සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2560ක් වූ පොසොන් මස (ව්‍යවහාරික වර්ෂ 2016 ජූනි)

57 වෙනි කලාපය



## ස්වයංජාත ඇල් වගාවට වටිනා උපදෙස් මාලාවක්...

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-

# මහා පුරිසයාණෝ...



බුදු හිමි මිනිසෙකුද බඹෙකුද දෙවියෙකු ද
හුදු මතවාද විය හිමි වැඩ විසූ කල ද
සිදු හත් කුමරු ලෙස මෙම මනු ලොව ඉපි ද
විදු සක්විති පදවි ලද උතුමෙකු නොවෙ ද

කුමරෙකු රජෙකු සැමියෙකු වුන මහ සතෙ කි
මිතුරෙකු වුන ලොවම සැනසුව ගුණවතෙ කි
මිනිසෙකු විලස ලඝු කොට සැලකිය නොහැ කි
දෙවියෙකු බඹෙකු නොව එනමුදු මහතුමෙ කි

පර සිත් විජානන නැණ දිව ඇස පෑදී
ගොර දිගු සසර පෙර කඳ පිළිවෙළ ආදී
පෙර නොම ඇසුව දහමක් දන හිතවා දී
සුර නර පුද ලදහ විජ්ජා උදපා දී

නිම් නැති රුදු සසර දුක සදහටම මුදා
කෙම් බිම නිවන් පුර යන මග විරිය යොදා
දම් සක් සුතුර තුළ දෙසු සඳ මනස සදා
සම් බුදු පදවි ලද බව පිළි ගැනුනි එදා

වදහළ සොඳුරු දහමින් සිත අවදි කර
පණ නල තිබෙන තුරු ගරු සරු සිතිනි තිර
හෙළි කළ මගෙහි ගිය සැදැහැති පිරිස දුර
නිසි පල ලදහ විවරව මොක් පුරෙහි දොර

විසිතුරු ගැඹුරු දහමකි බුදු හිමි දෙසුවේ
පිවිතුරු බව සදා පවතිනු ඇත මෙ ලොවේ
නිරතුරු මහ සඟනමයි බුදු දම රැකුවේ
ඇතිතුරු සසුන සෙත සුව සතහට සිදුවේ

පබැඳුම - කාව්‍ය ශිරෝමණී - පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# ධම්ම පදය තුලින් නිවන් මග

24 වන කොටස



එක්තරා අවස්ථාවක ලොව්තුරා බුදුන් වහන්සේ රජවරුන් නිසා දුක් ගැහැට විඳින මිනිස්සු දැකල මෙහෙම අදහසක් හිතුවා. මේ ලෝකෙ මිනිස්සු මරන්නෙ නැතිව, දඬුවම් නොදී, කාටවත් දුකක් කරදරයක් නොදී දැහැමිව රාජ්‍ය කරන්න බැරිද? මේ සිතිවිල්ල ඒ ක්ෂණයකින්ම මාරයා දැක්කා. බුදුන් වහන්සේගෙ සිතිවිල්ල දැකපු ගමන් මාරයා, ආයෙත් උන්වහන්සේට රාජ්‍ය කරන්න සිතක් පහල වෙලා වගේ, කොච්චර හොඳ දෙයක්ද එහෙම දැහැමින් රාජ්‍ය පාලනය කරනව නම් මටත් උදව් කරන්න පුළුවන් කියල හිතල උන් වහන්සේ ළඟට ගියා. ගිහින් මෙහෙම කිව්වා. ඔබ වහන්සේ සතර ඍද්ධිපාද වැඩූ උත්තමයෙක්, ඔබ වහන්සේට ඕන නම් හිමාල පර්වතයම රත්තරන්වලට හරවන්න ඒකත් පුළුවන්, ඔබ වහන්සේට ඕන තරම් ධනය තියෙනවා, මටත් පුළුවන් ඔබ වහන්සේට ඕන තරම් ධනය දෙන්න, ඉතින් යුද්ධ නොකොට, මිනිස්සු තලා පෙලන්නෙ නැතුව, දැහැමින් රාජ්‍ය කරන්න මාත් උදව් කරන්නම්.

දැන් මෙතනදි පැහැදිලි කාරණයක් තමයි **දැහැමින් රාජ්‍යයක් කරන කොට මාරයා වුනත් උදව් කරන්න පෙළඹෙනවා** කියන එක. නමුත් බුදුන් වහන්සේ ඒක ප්‍රතික්ෂේප කළා. එහෙම ප්‍රතික්ෂේප කළෙත්, හිමාලය රත්තරන් වුනත් රිදී වුනත් ඒකෙන් මට ඇති වැඩක් තියෙනවද කියල අහල. නමුත් උන්වහන්සේ මාරයාගේ ආරාධනාවට ගරහන්න ගියෙත් නෑ. ඒක ධම්ම පදයේ නාග වග්ගයේ එන මේ ගාථාවෙන් පැහැදිලි වෙනවා.

අත්ථම්හි ජාතම්හි සුඛා සහායා
තුට්ඨී සුඛා යා ඉතරීතරේන
පුඤ්ඤං සුඛං ජීවිත සංඛයම්හි
සබ්බස්ස දුක්ඛස්ස සුඛං පහානං.

සරල සිංහල තේරුම,

යම් කිසි කටයුත්තක් ඇති වූ කල්හි එය සිදු කිරීමට සමත් යහළුවන් සිටීම සැපයකි. හීන වූද, ප්‍රණීත වූද, ස්වල්ප වූද, බොහෝ වූද තමා සතු දෙයකින් සතුටු වීමත් සැපයෙකි. මැරෙන වේලෙහි තමා කළ පිනද සැපයෙකි. මේ සියල්ලටම වඩා සියලු සසර දුක නැති කර ගැනීම (රහත් බව) ඒකාන්ත සැපයෙකි.

දැන් මේ ගාථාවෙ පළමු පේලියේ එන "අත්ථම්හි ජාතම්හි සුඛා සහායා" කියන කොටස අරන් බැලුවම, යම් කිසි කටයුත්තක් ඇති වෙච්ච වෙලාවක ඒක සිද්ධ කරන්න පුළුවන් යහළුවන් සිටීම සැපයක් කියන අර්ථය ගන්න පුළුවන්. ඉතින් මෙතනදි බුදුන් වහන්සේට ආපු සිතිවිල්ල තමයි දැහැමින් රාජ්‍ය කරන්න බැරිද කියන එක. තුන්කල් සහසුද්දයෙන්ම කිසිම අඩුපාඩුවක් නැතිව ලෝකයට චතුරාර්ය සත්‍යය දේශනා කළ ලොව්තුරා බුදුන් වහන්සේට ඔය ටික දකින්න බැරිද කියල කෙනෙකුට හිතෙන්න පුළුවන්. උන් වහන්සෙ ඒක නොදන්නව නෙවෙයි. නමුත් ලෝකයට යමක් දෙන්න ඕන වෙලාවකට ඔය විදිහෙ උපක්‍රමත් යොදනවා. කෙනෙක් ආවම, ඒ ආපු හේතුව, ඇයි ආවෙ, ඒ පුද්ගලය අහන ප්‍රශ්න, ඊට පස්සෙ මොකද වෙන්නෙ... මේ ආදී සියලුම දේ උන් වහන්සේ අඩුවක් නැතිව දකිනවා. නමුත් ඒකෙන් ලෝකයට පාඩමක් දෙන්න තියෙනව නම්, තව කෙනෙකුට යහපතක් වෙනව නම්, උන් වහන්සේ ප්‍රශ්න අහනවා, ඒ ප්‍රශ්නවලට උත්තර දෙනවා. ඉතින් මාරයා ගැනත් දන්න නිසයි එහෙම උපක්‍රමයක් යෙදුවෙ.

ලොව්තුරා බුදුන් වහන්සේට අනුව, මහ පොළොවෙන් නිය පිටට ගත්ත පස් ප්‍රමාණය වගේ කොටසක් හැර ඉතිරි පස් හා සමාන අනෙක් අයට නිවන් මාර්ගය වඩන්න උවමනාවක් නෑ. නමුත් ඒ ඉතුරු පස් ගොඩේ ඉන්න සේරම අය නරක පැත්තට බර අය කියන එක නෙවෙයි ඒකෙන් කියන්නෙ. කොටසක් ඉන්නවා, අනේ දුකක් කරදරයක් නැතිව ඉන්න තියෙනව නම්, අනුන්ටත් කරදරයක් නොවී අපිටත් සතුටින් ඉන්න තියෙනව නම් කියන යහපත් සිතිවිලි තියෙන අය. එහෙම නැති අයත්, දුෂ්චරිත කරන අයත් ඉන්නවා. ඉතින් ඒ නිසා ලොව්තුරා බුදුන් වහන්සේට ආපු සිතිවිල්ල, ඔය කිව්ව ඉතුරු පස් ගොඩේ ඉන්න අයටත් උදව්වක් වෙනවා. ඉතින් ඒ අයත් සතුටු වෙනවා. බුදුන් වහන්සේ ඒ අයටත් උපකාරයක් වෙන විදිහක් තමයි පෙන්නුවෙ.

මෙතනදි උන් වහන්සේට අනුව, යහපත් වැඩක් කරන්න ගියාම, යහපත් සිතිවිල්ලක් ආවම, ඒ සිතිවිල්ල සම්පූර්ණ කරගන්න යහළුවන්, එහෙම නැත්නම් පිරිසක් සිටීම කොච්චර හොඳද කියන කාරණය පෙන්වනවා. බොහෝ තැන්වල පාපී මාරයා කියල ඇමතුව උන් වහන්සේ, මෙතනදි මාරයා යහළුවෙක් හැටියටයි සැලකුවෙ. මොකද සිතිවිල්ල තිබුනෙ දැහැමින් රාජ්‍ය කරන්න. ඒකට ☞

උදව් කරන්න මාරයා වුනත් ලෑස්තියි. ඒ වගේම තවත් තැනකදී පාපී මාරයා කියල ආමන්ත්‍රණය කළා. එතකොට වෙලාවකදී යහළුවෙකුට සමාන කරපු මේ මාරයා කියන්නෙ කවුද? එක එක අය තම තමන්ට ඕන ඕන විදිහට මේ මාරයා විග්‍රහ කරනවා. මාරයා මහා යක්ෂයෙක් විදිහට චිත්‍රයට ඇඳල තියෙන තැනුත් තියෙනවා. ඇත්තටම මාරයා කියන්නෙ යක්ෂාවේශ වෙච්ච කෙනෙක්ද? එහෙම නැත්නම් ලෝකෝත්තර ධර්මයට විරුද්ධව ඉන්න කෙනෙක්ද? මේ කාරණය ධර්මය තුලින්ම පැහැදිලි කර ගන්න පුළුවන්.

ධර්මයේ සඳහන් වෙන ආකාරයට මේ මාර කියන කොටස අභිසංඛාර මාර, කෙලෙස් මාර, ස්කන්ධ මාර, මච්චු මාර, දේවපුත්ත මාර කියල කොටස් පහකට බෙදෙනවා. ඒ වගේම පෙළ දහමේ එන සංයුක්ත නිකායේ සගාථවග්ගපාළි කියන කොටසේ මාර සංයුක්තය කියල වෙනම කොටසක මාර ධර්ම, මාරයා කියන්නෙ කවුද කියල විග්‍රහ කරල තියෙනවා. එක්තරා අවස්ථාවක රාධ තෙරුණ් වහන්සේ බුදුන් වහන්සේ ළඟට ඇවිත් මාරයා ගැන ඇහුවා. මේ තමයි උන්වහන්සේ ඒකට දුන්න පිළිතුර.

ස්වාමීනි, මාරයා මාරයා යැයි කියනු ලැබේ. ස්වාමීනි, කෙතෙක් කරුණකින් මාරයා යැයි කියනු ලැබේද?

රාධය, රූපය වනාහි ඇති කල්හි මරණය හෝ වන්නේද, මැරිය යුතු හෝ වන්නේද? යමෙක් වනාහි මියයයිද, රාධය එබැවින් ඔබ රූපය මරණයයි බලව, මැරිය යුතුයයි බලව, මැරේයයි බලව, රෝගයයි බලව, ගන්ඩයයි බලව, හුලයයි බලව, දුකයයි බලව, දුක වූයේ යයි බලව. යම් කෙනෙක් ඒ රූපය මෙසේ බලත්ද ඔවුහු මනාකොට දකිත්. (<u>මාර සූත්‍රය</u> - පළමුවෙනි වර්ගය - රාධ සංයුක්තය - සංයුක්ත නිකාය)

ඔය විදිහට වේදනා, සංඥා, සංඛාර සහ විඤ්ඤාණ ගැන විග්‍රහ කරල දුන්නා. කොටින්ම මේ පංචස්කන්ධය කියන එකටයි මාර කියල රාධ තෙරුණ් වහන්සේට පෙන්නුවෙ. පංච මාරවලින් එකක් තමයි ස්කන්ධ මාර කියන කොටස. පංචස්කන්ධයක් නිකං හටගන්නෙ නෑ. ඒකට හේතුවක් තියෙනවා. රූපයකට බැඳුන නම්, ඒ රූපය ලබාගන්න හිතුන නම්, තව තවත් බල බල ඉන්න ඕන කියල හිතුන නම්, අපි ඒ අනුව ක්‍රියා කරනවා. සිතින් ක්‍රියා කරනවා, ගතින් ක්‍රියා කරනවා, එහෙම නැත්නම් වචනයෙන් ක්‍රියා කරනවා. තමන්ට හොඳ පැත්ත ආවම ඇලෙනවා. නරක පැත්ත ආවම, ඒ කියන්නෙ ඒ ඇලුන දේට විරුද්ධව යමක් ආවම ගැටෙනවා. ඔය අනුව හිතින් බැඳිල ක්‍රියා කරන නිසා අභිසංඛාර කියනවා. මේ අභිසංඛාර නිසයි ඊළඟ ජාතිය ගොඩ නගන්නෙ. කොටින්ම ඊළඟ පංචස්කන්ධය ගොඩනගන්න මේ සංඛාර හේතු වෙනවා. මාර ධර්මයක් ගොඩ නගන්න උදව් වෙන නිසා මේ අභිසංඛාරවලට අභිසංඛාර මාර කියලත් කියනවා. යහපත් කියල ඇලෙනවා. ඊට විරුද්ධ දෙයක් ආවම ගැටෙනවා. ඇලෙන්නෙ නිකං නෙවෙයි. එක්කො රාගය නිසා, එහෙම නැත්නම් ලෝබය නිසා. ඊට විරුද්ධව එන දේට ද්වේශය හටගන්නවා.

මගේ එක ගත්තොත් මම බලා ගන්නම්කො කියන තැන දත්මිටි කාගෙන ඉන්නවා. මේව තමයි හිතකට එන කුණු. පිරිසිදුව ඉන්න හිතකට කුණු ආවම එතනින් එහාට හිතන්නෙ මේ කුණු එක්කමයි. ඒක අර මාර ධර්ම ගොඩනගන්න උදව් වෙනවා. මේ කුණුවලට කෙලෙස් කියලත් කියනවා. රාගය කෙලෙස්වලට අයිතියි. ද්වේශය කෙලෙස්වලට අයිතියි. මෝහය කෙලෙස්වලට අයිතියි. ඒ නිසා රාග, ද්වේශ, මෝහ කෙලෙස්වලට ක්ලේශ මාර හෙවත් කෙලෙස් මාර කියල කියනවා. හටගත්ත යමක් තියෙනවද ඒකට මරණය කියන කාරණය පොදුයි. ජරාවට පත්වෙනවා, මරණයට පත්වෙනවා. කිසිම ජගතෙකුට ඒක නවත්වන්න බෑ. යමක් හටගන්නෙ ඒ හටගන්න දේට ශක්තිය ගොඩ නැගුවම. මේ ශක්තිය ගොඩ නගන්න අවිද්‍යාව මූලික වෙනවා. අවිද්‍යාව නිසා හටගත්ත යමක් ඇත්නම් ඒකට ජරා මරණ ඒකාන්තයි. ඒ නිසා මරණයත් මාර ධර්මයක් හැටියටයි සලකන්නෙ. මච්චු මාර කිව්වෙ මේ මරණයට. නමුත් අපට තේරෙනවා, මෙතනදී බුදුන් වහන්සේ යම් කිසි කෙනෙක් එක්ක කතා බහ කරපු බව. කොටින්ම පුද්ගලයෙක් හිටපු බව. ඒ පුද්ගලයා ලොව්තුරා බුදුන් වහන්සේගෙ සිත දැන ගත්තා, ඒ අනුව ඇවිත් කතා කළා. ඒ නිසා කවුරු හරි ඉන්න ඕන. සංයුක්ත නිකායේ එන මාර සංයුක්ත කියන කොටසින් මේ ටික හොඳට පැහැදිලි වෙනවා.

මා විසින් මෙසේ අසන ලදී. එක් කලෙක භාග්‍යවතුන් වහන්සේ උරුවෙල් දනව්වෙහි නේරංජනා ගංතෙර අජපල් නුගරුක මුල වසන සේක. එකල්හි මරහුගේ දූ වූ තණ්හාද, රතීද, රගාද යන තිදෙන පාපී මාරයා යම් තැනෙකද එතැනට පැමිණියහ. පැමිණ පාපී මාරයාට ගාථායෙකින් මෙසේ කීය. පියාණනි, කවර හෙයින් නොසතුටුයෙහිද? කවර කවර පුරුෂයෙකු නිසා ශෝක කෙරෙයිද? අපි ඔහු, වනෙහි ඉන්නා ඇතෙකු මෙන්, රාග මලපුඩුයෙන් බැඳ ගෙනෙන්නෙමු. ඔබට යටත් වන්නේය. (ඔහු) සුගතයෝ ලොව රහත් කෙනෙකි. රාගයෙන් බැඳ ගෙනිය නොහැක්ක. මරහුගේ බල පවත්නා සීමාව ඉක්මවූ කෙනෙකි. එබැවින් මම් බොහෝ සේ ශෝක කෙරෙමියි මාර තෙම කීය.

(<u>මාරධීතු නොහොත් ධීතරෝ සූත්‍රය</u> - තුන්වෙනි වර්ගය - මාර සංයුක්තය - සංයුක්ත නිකාය)

මෙතනදී කාරණා දෙකක් පැහැදිලියි. මාරයා කියල කෙනෙක් ඉන්න බවත්, ඔහුට ලෝකෝත්තර මාර්ගයේ ඉන්න බුද්ධාදී ශ්‍රාවකයන්ගේ හිත් වසඟයට ගන්න බැරි බවත්. මොහු අයිති වෙන්නෙ දේවපුත්ත මාර කියන කොටසට. එහෙම නැත්නම් මාර දිව්‍ය පුත්‍රයා කියන්නෙත් මොහුටමයි. කෙනෙක් ලෞකික වශයෙන් හොඳ මාර්ගයේ යනවද, ලෝකය හොඳයි, ලෝකයේ ජීවත් වෙන එක කොච්චර සැපක්ද... මේ ආදී වශයෙන් පැවැත්මක සැපක් හොයන පැත්තක ඉන්න කෙනෙක්. පින් දහම් නොකර දෙවි කෙනෙක් වෙන්න බැරි බව පැහැදිලියි. යහපත් දෙයක් දෙන දෙවන ගතිය තමයි දේවත්වයට හේතු වෙන්නෙ. ඉතින් ඒ අනුව ජීවත් වෙලා ඉන්න අයට උදව් උපකාර කරනවා. ඒකයි මාරයා මුලින්ම බුදුන් වහන්සේගෙ අර සිතිවිල්ලට උදව් කරන්න ආවෙ. ලෝකෙන් එතෙර වෙනවට වඩා ලෝකෙ ඉන්න එක කොච්චර හොඳද කියන සිතිවිල්ලට උදව් කරන කෙනෙක්. බුදුන් වහන්සේ කොච්චර නම් පිනෙන් කුසලයෙන් පූර්ණද කියලත් මාරයා දන්නවා. ඒ නිසාමයි තමන්ගෙ මගට ගන්න උත්සාහ කළේ. කොටින්ම ලෝකයේ තියෙන හරය, යථාර්ථය දේශනා කරනවට කැමති නැති කෙනෙක්. මෙච්චර සැප සම්පත්

එක්ක ඉන්න පුළුවන්කම තියෙද්දි මොකට ඒකෙන් මිදෙන්න බණ දේශනා කරනවද කියල විරුද්ධව වැඩ කරන කෙනෙක්. කොටින්ම හරයෙන් මිදුන කෙනෙක්. ඒ හරයෙන් මිදුන නිසයි මාර කියල කියන්නෙ. ඔය කියන පැත්තට පාක්ෂිකව වැඩ කරන අයට මාරපාක්ෂික කියල කියනවා. ඒ අය තමන්ගෙ ඥාන මට්ටමට අනුව අනුන්ට හිංගි හිංසා කරන්න වුනත් පෙළඹෙනවා. මේ අය පෙනෙන ලෝකයේ ඉන්නත් පුළුවන්, නොපෙනෙන ලෝකයේ ඉන්නත් පුළුවන්. වැඩිපුරම ඉන්නෙ නොපෙනෙන ලෝකයේ කොටස්. ගින්න තැප තැප ඉන්නවා. ඒ අයට ගින්නෙ ආදීනව කියල දීල වැඩක් නෑ. තරහ යනවා, විරුද්ධ වෙනවා. නමුත් පුච්ච ගත්ත දවසකට ඇවිත් ඇහුවොත් කියල දෙන්න පුළුවන්.

ඉතින් මෙහෙම තපින එකට බුදුන් වහන්සේ විරුද්ධ වුනෙත් නෑ. මොකද ඒ හැමෝටම නොතේරෙන නිසා. ඒ නිසයි දෙවන පේලියෙන් මෙහෙම කිව්වෙ. "හීන වූද, ප්‍රණීත වූද, ස්වල්ප වූද, බොහෝ වූද තමා සතු දෙයකින් සතුටු වීමත් සැපයෙකි. මැරෙන වේලෙහි තමා කළ පිනද සැපයෙකි." කොච්චර තිබුනත් අඩු වැඩි නැතුව තමන්ට තියෙන කොටසෙන් සතුටු වෙන්න පුළුවන්නම් ඒකත් සැපක්. එතකොට පින් දහම් කරන එකට විරුද්ධ වුනෙත් නෑ. ඒ නිසයි කිව්වෙ මැරෙන වේලෙහි තමන් කළ පිනත් සැපක් කියල. මොකද මරණෙන් මත්තෙ සුගතියකට යන්න ඒ පින් උදව් වෙන නිසා. මේ පින්වතුන්ට මතක ඇති වහරක අරිය චින්තාශ්‍රම පුණ්‍ය භූමියේ සිද්ධ කරපු මහා පින්කම්. ස්වයංජාත හාල්වලින් කරපු මහා බුද්ධ පූජාව, මල් ලක්ෂයේ පූජාව, හඳුන්කූරු ලක්ෂයේ පූජාව, පහන් ලක්ෂයේ පූජාව, සේසත්, පාවඩ, වට තිර, උඩුවියන් ලක්ෂයේ පූජාව, දාගැබ් ලක්ෂයේ පූජාව, මහා ඖෂධ පූජාව, කිරිපිඬු ලක්ෂයේ පූජාව... ආදී මහා පූජා. මේවා එකක්වත් සුළුපටු පූජා නෙවෙයි. අප්‍රමාණ ගුණයක් උදෙසා බුද්ධ සාසනය වෙනුවෙන් තිතට කරපු පූජා. **ලක්ෂය කියන්නෙ තිතට කියන නමක්. ලක්ෂයක් පූජා කළා කියන්නෙ තිතටම කළා කියන එක. ඒ කියන්නෙ කිසිම අඩුපාඩුවක්** නෑ. කවදා හෝ වැලි කැටයකින් හරි සහයෝගය දුන්නු කෙනෙක් ඉන්නව නම් මතු නිවනින්ම කෙලවර කරගන්න උදව් වෙන මහා ප්‍රතිපත්ති පූජා.

ඉතින් මේ පූජාවලට මූලික වෙච්ච පින්වතුන් ඒවා කරන්න හිතන කොටම වටේ ඉන්න පිරිස් උදව් උපකාර කරන්න පෙළඹෙනවා. තනියම කර තියාගෙන යන්න ඕන නෑ. අර ඉහත ගාථාවෙ මූලික පේලිය අනුවම ඒ අයට ඒක මෙලොවදීම ලැබුන සැපක්. එදා බුද්ධ වචනයටත් හොඳටම ගැලපෙනවා. නමුත් ඒ පින්වතුන් එතනින් නතර වුනේ නෑ. තමන්ට ලැබුන විදිහට හීන වේවා, මධ්‍යම වෙවා, ප්‍රණීත වේවා ඒ අනුවත් සතුටු වුනා. ඒකත් මෙලොවදීම ඒ අයට ලැබුන සැපක්. එතනිනුත් නතර වුනේ නෑ. ඒ ගාථාවෙම අවසාන කොටස හැටියට පරම සැපයට ළඟා වෙන්න උත්සාහ වීරිය කරන පින්වතුන් පිරිසක්. ඉතින් ඉහත ගාථාව එදා වගේම අදටත් අපේ ඇස් ඉදිරියේම ඔප්පු වෙලා තියෙනවා.

එතකොට ඉහත ගාථාවෙන් බුදුන් වහන්සේ මාරයාගෙන් ඇහුවෙ, මට හිමාලය රත්තරන් කරන්න පුළුවන් වුනාට ඒකෙන් වැඩක් තියෙනවද කියල. උන් වහන්සේ ලෝකයට දේශනා කළ දහමක් තියෙනවා. යමක් හට ගත්තද ඒකෙ ජරාවක් මරණයක් ඒකාන්තයෙන්ම තියෙනවා. ඉතින් හිමාලය රත්තරන් කළත් ඒ මොහොතේ ඉඳන් ඒකෙ ජරාව මරණය පටන් ගන්නවා. අංශුවෙන් අංශුව හෝ දිරාපත් වෙනවා. මට මහා රත්තරන් කන්දක් අයිති වුනා කියල සතුටු වෙන්න පුළුවන්. ඒත් මට මේ ඇති කියල සතුටු වෙයිද? එහෙම නැත්නම් දැන් ඒ කන්ද රැකගන්න කරන උත්සාහය වීරිය සතුටක්ද? අර ඉහත මහා පිංකම් කරන පින්වතුන්ට ලැබුන සතුට වගේ සතුටක් ලැබෙයිද? නෑ. හැම තිස්සෙම බයෙන් සැකෙන් ඉන්න වෙන්නෙ. මගේ රත්තරන් කන්දෙන් කවුරු හරි කෑල්ලක් කඩාගෙන යයිද? ඔය වගේ නොයෙක් ප්‍රශ්න ඔළුවෙ තියාගෙන තැවි තැවී ඉන්න වෙන්නෙ. කලින් හිමාලය තරම් නොතිබුන ප්‍රශ්න ගොඩක් දැන් අලුතින් දාගත්තා. ඉහත රාධ තෙරුණ් වහන්සේටත් බුදුන් වහන්සේ කිව්වෙ මේ දේ දකින්න කියල. "එබැවින් ඔබ රූපය මරණයයි බලව, මැරිය යුතුයයි බලව, මැරෙයයි බලව, රෝගයයි බලව, ගණ්ඩයයි බලව, හුලයයි බලව, දුකයයි බලව, දුක වූයේ යයි බලව. යම් කෙනෙක් ඒ රූපය මෙසේ බලත්ද ඔවුහු මනාකොට දකිත්" මනාකොට දකින විදිහයි ඒ පෙන්නුවෙ. ඉතින් ඒ කාරණය උඩයි උන් වහන්සේ මාරයාට කිව්වෙ, ඔය හිමාලය රත්තරන් වුනත් රිදී වුනත් මට වැඩක් නෑ කියල. මොකද ඒක දුකට මුලක් නිසා.

අවසානයේ උන් වහන්සේ ඒ ගාථාවෙන්ම මේ විදිහට දේශනා කළා. මේ සියල්ලටම වඩා සියලු සසර දුක නැති කර ගැනීම (රහත් බව) ඒකාන්ත සැපයෙකි. අවසානයේ ඒකාන්ත සැපයක් කිව්වෙ ඒකයි. මොකද අනෙක්වා සේරම ගෙවිල වැනසෙන නිසා. දුක්ඛ ආර්ය සත්‍යය, දුක්ඛ සමුදය ආර්ය සත්‍යය, දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය, දුක්ඛ නිරෝධ ගාමිණි පටිපදා ආර්ය සත්‍යය මනාකොට අවබෝධ කරගෙන සියලු දුකින් මිදීමයි උන් වහන්සේ අනුමත කළේ. අවසානයේ බෞද්ධයාට බොජ්ජංග ධර්ම හැර, තපෝ ගුණය හැර, නිවන හැර වෙනත් සුවයක් මා නොදකිමි කියලයි දේශනා කළේ.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්ම පද පාළිය - නාග වග්ගය ඇසුරින් සකස් කළේ :*

**ෆික්රි ඉස්මයිල්**
පරිගණක ඉංජිනේරු - ගොතටුව
**072-7536839**

# කාරුණික දැනුම් දීමයි

හෙළ බොදු පියුම දහම් සඟරාව දැනට දිවයිනේ ලබාගත නොහැකි පළාත් ගණනාවකම පින්වතුන් සඟරාව ලබාගැනීමට සලස්වන ලෙසට ඉල්ලීම් කර ඇත. මෙම සඟරාව දැනට බෙදාහරිනු ලබන ස්ථාන භාර පින්වතුන් මෙන් කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව උතුම් සාසනික කටයුත්තක් ලෙස සලකා එකී සත්කාර්යට දායක විය හැකි තවත් ස්ථාන භාර පින්වතුන් ඇත්නම් ඒ සඳහා ඉදිරිපත් වන ලෙස කාරුණිකව දැනුම් දෙනු ලැබේ. විමසීම්: 071-3046895

# ලොව සැමට එක සේ පොදු අනිච්චතාව 7

## <u>සංකල්පිත රාගය තව දුරටත්</u>

සංකල්පිත රාගය කියන්නෙ විපාක ලෝකය තුල තියෙන එකක් නොවන බවත්, විපාක ලෝකය උපාදාන කරගෙන අවිද්‍යාවෙන් පටිච්ච සමුප්පන්නව මනෝ මූලිකව සත්වයා විසින් ගොඩනගන සංකල්පයක් බවත් පසුගිය කලාපයෙන් පැහැදිලි කළා.

විපාක ලෝකය තුල, ඒ කියන්නෙ ඇස - රූප, කන - ශබ්ද, නාසය - ගන්ධ, දිව - රස, කය - පොට්ඨබ්බ, මන - ධර්ම තුල ආස්වාද තියෙනව කියල තමයි ලෝක සත්ත්වයා හිතාගෙන ඉන්නෙ. මේකට කියනවා අවිද්‍යාව කියල. ලෝකයට සම්මා සම්බුදු පියාණන් වහන්සේ නමක් පහළ වෙලා මේ කාරණය පෙන්වා දෙනකල් ලෝක සත්ත්වයාට ඒක වැටහෙන්නෙ නෑ. එතකල් අවිද්‍යාවෙන් වැහිල ඉන්නෙ. මේ විද්‍යාව පහළ වෙනකල් සත්ත්වයා ලෝකයට රාගයෙන් ඇලෙනවා, බැඳෙනවා. රාගයෙන් ඇලිච්ච බැඳිච්ච දේට විරුද්ධව යමක් සිද්ධ වෙන කොට ගැටෙනවා, ද්වේශය පහල කරනවා. ද්වේශය කිව්වෙ රාගයේ දෙවැනි වේශය. ඒ කියන්නෙ රාගය නැත්නම් ද්වේශයක් නෑ. ඒ නිසා ලෝක සත්ත්වයා තම තමන් ඉන්න දෘෂ්ටියට අනුව, එහෙම නැත්නම් තමන් හදාගත් ගතියට අනුව කාම, රූප, අරූප කියන තුන් ලෝකෙ කොහේ හරි උප්පත්තියක් ගොඩනගමින් අනන්ත දුකක් විඳිමින් සසර ගමනක යෙදිල ඉන්නවා. මේ බව කියල දීල ලෝක සත්ත්වයා දුකෙන් මුදවන්න තමයි සම්මා සම්බුදු පියාණන් වහන්සේ නමක් ලෝකයට පහළ වෙන්නෙ. එහෙම නැතුව අසංඛ්‍යය කල්ප ලක්ෂ ගණන් පෙරුම් පුරල සිල් වතක් පනවන්න නෙවෙයි තථාගතයන් වහන්සේලා ලෝකයට පහල වෙන්නෙ.

අවිද්‍යාවෙන් වැහිල ඉන්න ලෝක සත්ත්වයා පින් පව් දෙකම කරමින් තමයි මේ ගමන යන්නෙ. ඒ කියන්නෙ ලෝභ, ද්වේශ, මෝහ තුලින් පව් කරනවා. අලෝභ, අද්වේශ, අමෝහ තුලින් පින් කරනවා. ඒකෙනුත් වැඩි හරියක්ම, 99% ක්ම කරන්නෙ පව්. ඒ නිසා ලෝක සත්ත්වයා සසර ගමන තුල වැඩි හරියක්ම ඉන්නෙ දුගතියේ. එහෙම නැත්නම් සතර අපායෙ. ඒකයි සතර අපායට ලෝක සත්ත්වයාගෙ මහ ගෙදර කියන්නෙ.

අද මේ බව නොදන්න බොහොමයක් ලෝක සම්මත බෞද්ධයො හිතන් ඉන්නෙ, සම්මා සම්බුදු පියාණන් වහන්සේ නමක් පහළ වෙන්නෙ සිල් වතක් ලෝකයට දෙන්න, එහෙම නැත්නම් උන්වහන්සේලා දහම් දෙසන්නෙ සීල විසුද්ධිය සඳහා කියල. මේ බව සංයුක්ත නිකායේ හතරවන කාණ්ඩයේ 105 වන පිටුවේ එන <u>ගිලාන සූත්‍රයේ</u> මේ විදිහට දක්වා තියෙනවා.



"මහණ, ඉදින් තෙපි සීල විසුද්ධිය පිණිස මා විසින් දහම් දෙසන ලදැයි නොම දනිහු නම් එකල්හි කුමක් පිණිස මා විසින් දහම් දෙසන ලදැයි දනිහුද? වහන්ස, භාග්‍යවතුන් වහන්සේ විසින් රාගවිරාගය පිණිස දහම් දෙසන ලදැයි මම දනිමි.

මහණ, මැනවි මැනවි. මහණ තෙපි රාගවිරාගය පිණිස මා විසින් දහම් දෙසන ලදැයි දනිවු. මැනවි. මහණ මා විසින් දහම් දෙසන ලද්දේ රාගවිරාගය පිණිස මැයි."

ලෝකයේ කවදත් සිල් වත් තියෙනවා. සිදුහත් කුමාරයා ඉපදෙන කොටත් මහා මායා දේවිය අට සිල් සමාදන වෙලා හිටිය කියල ධර්මයේ සඳහන් වෙනවා. නිවන් දකින්නෙ ප්‍රඥාවෙන්, රාග විරාගය තුලින්, එහෙම නැත්නම් අවිද්‍යා නිරෝධය තුලින්. හැම සීලයක්ම කුසල් නෙවෙයි. අකුසල සීලත් තියෙනවා. ඒව තමයි දුසිල් කියන්නෙ. අකුසලයකින් ළය සිසිල් කර ගන්න බලනවා. මෝහාධික අශ්‍රැතවත් පෘතජ්ජනයා කුසල් කියල හිතාගෙන අකුසල සීලවලත් එල්බගෙන ඉන්නවා. සිල් වතක එල්බගෙන ඒක පරම කරගෙන ඇසුරු කරනවට සීලබ්බත පරාමාස කියල කියනවා. සෝවාන් ඵලය ලබන වෙලාවෙදි තමයි සිල් වතක් පරම කරගෙන හිටියට නිවන් දකින්න බෑ කියල අවබෝධ කරගෙන සීලබ්බත පරාමාසය දුරු වෙන්නෙ.

අද තවත් බොහෝ දෙනෙක් කිසිම ධර්මාවබෝධයක් නැතිව භාවනා කරන්න පටන් ගන්නවා. භාවනා කරනව කියන්නෙ සත්තිස් බෝධි පාක්ෂික ධර්ම වැඩීම. සත්තිස් බෝධි පාක්ෂික ධර්මවල චතුරාර්ය සත්‍යයෙන් අඩංගු වෙන්නෙ දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා මාර්ග සත්‍යය විතරයි. ඒ කියන්නෙ සත්තිස් බෝධි පාක්ෂික ධර්ම වඩන්න නම් චතුරාර්ය සත්‍ය අවබෝධය ලබල තියෙන්න ඕන. බොහෝ ත්‍රිපිටක සූත්‍රවල සත්තිස් බෝධි පාක්ෂික ධර්ම වඩන හැටි පෙන්වල තියෙන්නෙ සීල සම්පන්න භික්ෂුවට. භික්ෂුව කියල කිව්වට සිවු වනක් පිරිස තමයි එයින් අදහස් වෙන්නෙ. ඒ කියන්නෙ සීලයක පිහිටපු ශ්‍රාවකයෙකුට. මේ කියන්නෙ සිල් වතක් සමාදන් වුනා කියන එක නෙවෙයි. පිහිටපු සීලයක්, එහෙම නැත්නම් සිසිල් වූ ළයක්. ඒ කියන්නෙ ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් වෙච්ච ශ්‍රාවකයෙක් වෙන්න ඕන. ඔහු තමයි සිවු අරිසස් අවබෝධය තුලින් ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවකයෙක් වූ කෙනා. ඔහුට පුළුවන් වටහාගත් දහම භාවිතා කරන්න, වඩන්න, භාවනා කරන්න.

සමහර පෘතජ්ජනයො මේ වැහැරෙන, දිරන, ලෙඩවෙන, මැරෙන කය දිහා බලාගෙන ඒක මෙනෙහි කරමින් ඉන්නවා. ඔවුන් ඒක මෙනෙහි කළා කියල, එහෙම නැත්නම් ඒක මෙනෙහි කරමින් භාවනා කළා කියල කවදාවත් නිවන් දකින්නෙ නෑ.

ශ්‍රැතවත් අරිය ශ්‍රාවකයෙක්ගෙන් සිවු අරිසස් දහම අහල අවබෝධ වුන දවසට නිවන් දකිනවා. මේ බව සංයුක්ත නිකායේ දෙවන කාණ්ඩයේ 148 වන පිටුවේ එන අස්සුතවන්තු සූත්‍රයේ මේ විදිහට විස්තර කරල තියෙනවා.

"මහණෙනි, නූගත් පුහුදුන් තෙමේ සතර මහාභූතයන්ගෙන් හටගත් මේ සිරුරෙහි උකටලී වන්නේත් වෙයි. නො ඇලෙන්නේත් වෙයි. මිදෙනු කැමැත්තේත් වෙයි. ඒ කවර හෙයින් යත් මහණෙනි, සතර මහා භූතයන්ගෙන් හටගත් මේ ශරීරයෙහි වැඩීමත් පිරිහීමත් හටගැනීමත් බිඳීමත් පෙනෙයි. එහෙයින් නූගත් පුහුදුන් තෙමේ එහි ලා උකටලී වන්නේත් වෙයි. නො ඇලෙන්නේත් වෙයි. මිදෙනු කැමැත්තේත් වෙයි.

මහණෙනි, මේ යමක් සිත යයි ද මනස යයි ද විඤ්ඤාණ යයි ද කියනු ලැබේද, එහි ලා නූගත් පුහුදුන් තෙමේ කලකිරෙන්නට නොසමත්ය, නොඇලෙන්නට නොසමත් ය, මිදෙන්නට නොසමත් ය, ඒ කවර හෙයින්ද යත්, මහණෙනි, නූගත් පුහුදුන් විසින් බොහෝ කලක් මුළුල්ලෙහි 'මෙය මාගේ ය, මේ මම වෙමි, මේ මාගේ ආත්මයයි' තෘෂ්ණාදියෙන් බැස ගන්නා ලදී. මමත්වය කරන ලදී. පරාමර්ශනය කරන ලදී. එහෙයින් එහිලා නූගත් පුහුදුන් තෙමේ උකටලී වන්නට නොසමත්ය. නොඇලෙන්නට නොසමත්ය. මිදෙන්නට නොසමත්ය.

මහණෙනි, එහි ලා ඇසූ පිරූ තැන් ඇති ආර්ය ශ්‍රාවක තෙමේ පටිච්ච සමුප්පාදයම මනා කොට නුවණින් මෙනෙහි කෙරේද, මෙසේ මේ හේතුව ඇති කල්හි මේ ඵලය වෙයි, මෙය ඇතිවීමෙන් මෙය උපදී, මෙය නැති කල්හි මෙය නොවෙයි, මේ හේතුව නිරුද්ධ වීමෙන් මේ ඵලය නිරුද්ධ වේ. එනම් අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංස්කාරයෝ වෙති. සංස්කාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය වේ. මෙසේ මේ හුදු දුක් රැසේ හටගැනීම වේ."

එහෙනම් ශ්‍රැතවත් අරි සව්වෙක් මෙනෙහි කරන්නෙ පටිච්ච සමුප්පාදය. ඒ කියන්නෙ හේතු ඵල ධර්මතාවය.

රහත් ඵලය සාක්ෂාත් කරන වෙලාවෙදි, ඒ කියන්නෙ සෝපාදිසේස නිර්වානයෙදි නිරෝධ වන දුක මොකක්ද, අනුපදිසේස නිර්වානයෙදි එහෙම නැත්නම් පිරිනිවන් පෑමෙදි නිරෝධ වන දුක මොකක්ද කියල පසුගිය කලාපයෙන් පැහැදිලි කළා. සෝපාදිසේස නිර්වානයෙදි නිරෝධ කරන දුක හටගන්න විදිහ බුදු පියාණන් වහන්සේ අචේලකස්සපයන්ට සංයුක්ත නිකායේ දෙවන කාණ්ඩයේ 30 වන පිටුවේ එන අචේලකස්සප සූත්‍රයෙන් මේ විදිහට විස්තර කරල තියෙනවා.

"භවත් ගෞතමයෙනි, කිම (කියන්න) දුක තමා විසින් කරන ලද්දක් දැ යි මෙසේ විචාරණ ලද්දෙහිම, කාශ්‍යපය, එසේ නොකියවයි වදාරන්නෙහිය. භවත් ගෞතමයෙනි, කිම, දුක මෙරමා (අන්‍යයන්) විසින් කරන ලද්දක් දැයි මෙසේ විචාරණ ලද්දෙහිම, කාශ්‍යපය එසේ නොකියවයි වදාරන්නෙහිය. භවත් ගෞතමයෙනි, කිම, දුක තමා විසිනුත් මෙරමා විසිනුත් කරන ලද්දක් දැයි මෙසේ විචාරණ ලද්දෙහිම කාශ්‍යපය, එසේ නොකියව යි වදාරන්නෙහිය. භවත් ගෞතමයෙනි, කිම, දුක තමා විසිනුත් මෙරමා විසිනුත් නොකරන ලද්දේ ඉබේ හටගත්තක් දැයි මෙසේ විචාරණ ලද්දෙහිම කාශ්‍යපය, එසේ නොකියවයි වදාරන්නෙහිය. භවත් ගෞතමයෙනි, කිම දුක නැත්තේ දැයි මෙසේ විචාරණ ලද්දෙහිම කාශ්‍යපය, දුක නොම නැත්තේය, දුක ඇත්තේම යයි වදාරන්නෙහිය. එසේ නම් භවත් ගෞතම, තෙමේ දුක නොදනීද, දුක නොදකී දැයි මෙසේ විචාරණ ලද්දේම කාශ්‍යපය, මම දුක නොම නොදනිමි නොම නොදකිමි, කාශ්‍යපය මම දුක දනිමිය, කාශ්‍යපය, මම දුක දකිම්ම යයි වදාරන්නෙහිය. වහන්ස, භාග්‍යවතුන් වහන්සේ මට දුක කියන සේක්වා. වහන්ස, භාග්‍යවතුන් වහන්සේ මට දුක දේශනා කරන සේක්වා"

කාශ්‍යප, "හේ කෙරෙයි, හේ විඳීය" යි මෙබඳු ලබධි ඇති කල්හි පසුව "දුක තමා විසින්ම කරන ලද්දකැ" යි මෙබඳු ලබධි වෙයි. එබැවින් "දුක තමා විසින් කරන ලදැ" යි මෙසේ කියන්නේ තෙල සාස්වත දෘෂ්ටියට පැමිණේ. කාශ්‍යප, "අනෙකෙක් කෙරෙයි, අනෙකෙක් විඳීය" යි මුලදීම මෙබඳු ලබධි ඇති කල්හි පසුව එයින් උපදනා උච්ඡේද දිට්ඨි සහගත වේදනාවෙන් පෙළුනහුට "දුක මෙරමා විසින් කරන ලද්දකැ" යි මෙබඳු ලබ්ධි වෙයි. එබැවින් "දුක මෙරමා විසින් කරන ලදැ" යි මෙසේ කියන්නේ තෙල උච්ඡේද දෘෂ්ටියට පැමිණෙයි.

කාශ්‍යප, තථාගත තෙමේ ඒ මේ දෙ අන්තයට නොපැමිණ මැදුම් පිළිවෙතෙහි සිටියේ දහම් දෙසයි. අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංස්කාරයෝ වෙති. සංස්කාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය වෙයි. ... මෙසේ මේ හුදු දුක් රැස හට ගැනීම වේ. අවිද්‍යාවේම නිරවශේෂවිරාග නිරෝධයෙන් සංස්කාර නිරෝධය වේ. සංස්කාර නිරෝධයෙන් විඤ්ඤාණ නිරෝධය වේ. ... මෙසේ මේ හුදු දුක් රැස නිරෝධය වේ".

මේ අනුව දුක තමන් නිසා ආවත් නෙවෙයි, අනුන් නිසා ආවත් නෙවෙයි. දුක කියන්නෙ පටිච්ච සමුප්පන්නව ගොඩ නගා ගන්න එකක්. තමන් නිසා නම් දුක එන්නෙ, තමන් ඉන්නකල් දුකෙන් මිදෙන්න විදිහක් නෑ. බාහිර දෙයක් නිසා නම් දුක හටගන්නෙ, ඒ බාහිර දේවල් තියෙනකල් දුකෙන් මිදෙන්න විදිහක් නෑ. තමන්ගෙත් නැති, පිටත් නැති, පටිච්ච සමුප්පන්නව ගොඩනගන දෙයක් නිසාමයි අපිට දුකෙන් මිදෙන්න පුළුවන් වෙන්නෙ. දුක තමන් නිසා හෝ බාහිර ලෝකය නිසා හෝ ඉබේ හෝ හටගන්න එකක් වුනා නම්, අපිට කවදාවත් තමන් හෝ බාහිර ලෝකය තියෙනකල් දුකෙන් මිදෙන්න බෑ. ඒ නිසා නිවන් පූර්ණ කරපු රහතන් වහන්සේ ජීවත් වෙලා ඉඳෙද්දිම දුකෙන් මිදිල ඉන්නවා. බාහිර ලෝකයත් එහෙම්ම තියෙනවා. උන්වහන්සේ දුකෙන් මිදුන කියල ඒ බාහිර ලෝකයේ තියෙන දේවල්වල කිසිම වෙනසක් වුනෙත් නෑ. උන්වහන්සේට, පෙර අඹු දරුවො හිටියනම්, නෑදැයො හිත මිත්‍රයො හිටියනම් ඒ අයත් එහෙමම ඉන්නවා. උන්වහන්සේ, පෙර පරිහරණය කරපු ද්‍රව්‍ය වස්තු තිබුන නම් ඒවත් එහෙමම තියෙනවා. උන්වහන්සේට පිරිනිවන් පාන කල් අවශ්‍ය වෙන්නෙ සිවුපසය විතරයි. ඒක ලැබුණු විදිහට පරිභෝග කරනවා. මේ කය තියෙනකල් තමයි ඒකත් අවශ්‍ය වෙන්නෙ. මේ විදිහට අවිද්‍යා ප්‍රත්‍යයෙන් පටිච්ච සමුප්පන්නව දුක ගොඩනගනවා. අවිද්‍යා නිරෝධයෙන්, පටිච්ච සමුප්පාද නිරෝධයෙන් දුකෙන් මිදෙනවා.

හැබැයි මේ නිරෝධ කළේ කායික දුක නෙවෙයි. **ඒ කායික දුක රහතන් වහන්සේ පිරිනිවන් පාන කල්ම තියෙනවා. නිරෝධ කරන්න පුළුවන් වෙන්නෙ මනෝ මූලිකව, පටිච්ච සමුප්පන්නව ගොඩනගපු දුක.** ඒ ගොඩනගන දුක ලෝකයේ තියෙන යථාර්ථයක් නෙවෙයි, ඇත්තක් ☞

නෙවෙයි. ඒක ගොඩනගපු බොරුවක්, භූතයක්. මේ ජීවත් වෙලා ඉඳෙද්දි නිරෝධ කරන්න පුළුවන්, පටිච්ච සමුපන්නව අවිද්‍යාවෙන් ගොඩනගන දුක හඳාගන්න හැටි උදාහරණ උපමා කිහිපයකින් බලමු.

අපිට නිතර සිය දිවි නසාගන්න අය ගැන අහන්න ලැබෙනවා. ඒ අයගෙන් ඉතා සුළු ප්‍රමාණයක් තමයි කායික දුකක් උහුල ගන්න බැරිව සිය දිවි හානි කරගන්නෙ. වැඩි ප්‍රමාණයක් තමන්ගෙ වටිනා ජීවිතය නැති කරගන්නෙ මානසිකව ගොඩනගාගත් දුකක් නිසා. ලෝකයේ අනිච්ච ස්වභාවය, එහෙම නැත්නම් තමන්ගෙ කැමැත්තට පවත්වන්න බැරි බව නොදන්න නිසා තමයි එහෙම දේවල් කරගන්නෙ. බොහෝකොටම වැඩි දෙනෙක් සිය දිවි හානි කරගන්නෙ ප්‍රේම සම්බන්ධතා නිසා. ඒ කියන්නෙ තවත් කෙනෙකුට ඇලිල, ඒ පුද්ගලයා ලබාගන්න බැරි වුනාම. රාගය ගින්නක්. ඒකට විරුද්ධ දේ එනකොට ද්වේශයෙන් ගැටෙනවා. ඒකත් ගින්නක්. මේ දෙකටම හේතු වෙන්නෙ ලෝකයේ යථාර්ථය වටහා නොගැනීම. සමහරු තමන්ගෙ ශරීරය පවා ගිනි තියා ගන්නවා. ඒ වෙලාවට මානසිකව ඇවිලෙන ගින්න ඊට වඩා ප්‍රබලයි. අපිට යන්තම් ඇඟිල්ලක් ගින්නට අහුවුනත් ඇතිවෙන වේදනාව දරාගන්න අමාරුයි. එතකොට පිටින් ඉඳන් බැලුවොත් හරිම සුළු දේකට තමයි මේ ගිනි තියාගන්නෙ. මානසික ගින්න කායික වේදනාව අභිබවා යනවා.

සිය දිවි හානි කරගන්න තරම් දුර දිග ගිය ගැටළුව කොහොමද හටගත්තෙ? අපි හිතමු පිරිමි ළමයෙක් දිවි නසා ගත්තෙ තමන් ආදරය කරපු ගැහැණු ළමය නොලැබුණු නිසා කියල. මේ ගැටළුව එක දවසකින් හටගත් දෙයක් නෙවෙයි. මේ ගෑනු ළමයා මුණ ගැහිල ප්‍රේම සම්බන්ධය පටන් ගන්න කලින් මේ ප්‍රශ්නය තිබුනද? ඊට කලින් ඒ ගෑනු ළමය තව පිරිමි ළමයි ඇසුරු කරන්නත් ඇති. ඒත් දැන් වෙන පිරිමියෙක් ඒ ගෑනු ළමය දිහා බැලුවත් අර පිරිමි ළමයගෙ හදවත ගිනි ගන්නවා. හැබැයි මේ ගෑනු ළමය දිහා අනෙක් අය බැලුව කියල ඒක හැමෝටම ප්‍රශ්නයක් වෙනවද? නෑ. අර පිරිමි ළමයට විතරයි ඒක ප්‍රශ්නයක් වෙලා තියෙන්නෙ. එතකොට මොකක්ද මේ ගැටළුව? ගෑනු ළමය කියන්නෙ රූපයක්. ඇය සින්දුවක් කිව්ව නම්, කතා කළා නම් ඒ ශබ්දයක්. ඒ ගෑනු ළමය ළඟ යම් සුවඳක් වහනය වෙනවනම් ඒක ගන්ධයක්. මේ විදිහට ඒ ගෑනු ළමයගෙ රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ කෙරෙහි පිරිමි ළමයා ඡන්ද රාගයෙන් බැඳිල උපාදාන කරගෙන, උපාදානස්කන්ධයක් හදාගෙන. ගෑනු ළමයා පිළිබඳ බලවත් අභිවිඤ්ඤාණයක් හදාගෙන. ඔහුට ඇය දකින්නෙ නැතුව ඉන්න බැරි තත්වයට පත්වෙලා. දැන් ඔහු සිත, කය, වචනය මෙහෙයවන්නෙ ඒ වෙනුවෙන්. ඒ කියන්නෙ ඒ ගෑනු ළමය පිලිබඳ මනෝ, වචී, කාය සංඛාර ගොඩනගමින් විඤ්ඤාණයට ආහාර දෙනවා.

පිරිමි ළමයා මහා මානසික දාහයක් ගොඩනගාගෙන. මුල් වරට ගෑනු ළමය දකින කොටම කෙළෙස් හට ගත්තෙ නෑ. මුලින්ම දැක්ක ගමන් ගෑනු ළමයෙක් බව හඳුන ගත්තා. එතැන කෙළෙස් නෑ. කෙළෙස් හටගත්තෙ ඊට පස්සෙ. ඊළඟට දෘඩි අදහසක් ආවා, මේ ගෑනු ළමය නිච්ච සුඛ අත්ත වස්තුවක්, හරි වටිනා



කෙනෙක්, ඇය ළඟ ආස්වාද තියෙනවා, ඒ නිසා මට ලබාගන්න ඕන කියල. ඊට පස්සෙ ඒ අවිද්‍යාවෙන් ගත්ත අදහස කාය සංඛාර, වචී සංඛාර, මනෝ සංඛාර තුලින් බලවත් කරගත්තා. ඒ කියන්නෙ විඤ්ඤාණයට ආහාර දෙමින් පෝෂණය කළා. දැන් ඡන්ද රාගය බලවත් වුනා. උපාදානය බලවත් වුනා. කලින් නොතිබ්ච්ච දුක ගොඩ නැගුවා. දුක ඉබේ හටගත්තෙ නෑ. පටිච්ච සමුප්පන්නව ගොඩ නැගුවා.

ඇත්තටම පිරිමි ළමයට ගෑනු ළමය හමුවීම, පෙර කරන ලද කර්මයක විපාකයක්. පෙර සංසාරෙ තිබ්ච්ච බැඳීමක්, එහෙම නැත්නම් ගනුදෙනුවක් නිසා තමයි මේ ගෑනු ළමයව තමන්ගෙ කර ගන්න ඕන කියන අදහස පිරිමි ළමයගෙ හිතට ආවෙ. ඒ කියන්නෙ පිරිමි ළමයගෙ මනසට ධර්ම ගට්ඨනය වෙලා විපාක අවස්ථාව හැදුනා. හැබැයි විපාකයට බෑ තීරණයක් දෙන්න. පිරිමි ළමය තමන්ගෙ ප්‍රඥාව මදිකම නිසා ඒ ආපු විපාකය මත නව කර්මයක් අවිද්‍යාවෙන් පටිච්ච සමුප්පන්නව ගොඩ නැගුවා, දුක ගොඩ නැගුවා. ඒ කියන්නෙ ඒ ගෑනු ළමය මගේ කර ගන්න ඕන කියන තීරණය ගත්තා.

කම්මා විපාකා වත්තන්ති
විපාකා කම්ම සම්භවෝ
තස්මා පුනබ්භවෝ හෝති
ඒවං ලෝකෝ පවත්තති

කර්මයෙන් විපාකයක් ගෙන දෙනවා. අවිද්‍යාවෙන් වැහුණු පෘථජ්ජනයා ඒ විපාකය උපනිශ්‍රය කරගෙන නව කර්ම ගොඩ නගනවා. ඒ නිසා නැවත භවයක් ඇති වෙනවා. ඒ විදිහට ලොකයේ පැවැත්ම ගොඩ නැගෙනවා.

බුදු පියාණන් වහන්සේ දේශනා කළේ ආදීනවය දකින්න කියල. ආදීනවය තමයි අනිච්ච, දුක්ඛ, විපරිනාම ස්වභාවය. ලෝකයේ කිසිවක් අපේ කැමැත්තට පවත්වන්න බෑ, අපේ කැමැත්ත ඉෂ්ට කරන්නෙත් නෑ. ඒ නිසා දුකයි. එහෙමනම් මේ ලෝකයට ඡන්ද රාගයෙන් බැඳී බැඳී යන ගමනේ හරයක් නෑ. පෙර අනන්ත සංසාරෙ අපිට නිච්ච, සුඛ, අත්ත තැනක් ලැබුණනම් අද අපි දුක් විඳින්න මෙතැනට එන්නෙ නෑ. අතීතයේ තිබුනෙත් නැත්නම්, අදත් නැත්නම්, ඉදිරි අනාගතයෙදිත් එහෙම තැනක් ලැබෙන්න හේතු නැති බව වැටහෙන්න ඕන.

ඒ නිසා අපි ප්‍රඥාවෙන් ලෝකයේ යථා ස්වභාවය වටහ ගන්න ඕන. එතකොට අපි ලෝකයට දීල තිබුණු වටිනාකම ක්‍රමයෙන් අඩු වෙලා යනවා, ලෝකය පිලිබඳ ඡන්ද රාගය ප්‍රහාණය වෙනවා. ඡන්ද රාගය පූර්ණ ලෙසම ප්‍රහාණය වුන දවසට අවිද්‍යාවෙන් පටිච්ච සමුප්පන්නව හදන දුකෙන්, එහෙම නැත්නම් දුක්ඛ ආර්ය සත්‍යයෙන් සම්පූර්ණයෙන් නිදහස්. දුක්ඛ ආර්ය සත්‍යයට හේතු වෙච්ච ඡන්ද රාගය හෙවත් දුක්ඛ සමුදය ආර්ය සත්‍යය නිරෝධය තුලින් නිවන පූර්ණ කරනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**

# සැප නමැති මායාවේ යථාර්ථය

සංසාර විමුක්තිය සාක්ෂාත් කරගන්න බලාපොරොත්තු වන කෙනෙක් ඉස්සෙල්ලම ලෝකය මොකක්ද කියල හඳුන ගන්න ඕන. බුදු රජාණන් වහන්සේ ලෝකය විදිහට දේශනා කරල තියෙන්නෙ ලෝක ගෝලයේ තියෙන රටවල් ටිකේ එකතුව නෙවෙයි. සංයුක්ත නිකායේ 4 වන කාණ්ඩයේ 30 වෙනි පිටුවේ එන සබ්බ සූත්‍රයේ ලෝකය විස්තර කරල තියෙන්නෙ මේ විදිහට.

"සබ්බං වෝ භික්ඛවේ දේසිස්සාමි තං සුනාථ, කිඤ්ච භික්ඛවේ සබ්බං, චක්ඛුඤ්චේව රූපාච සෝතඤ්ච සද්දාච, ඝාණංච ගන්ධාච, ජිව්හාච රසාච, කායෝච පොට්ඨබ්බාච, මනෝච ධම්මාච, ඉදං වුච්චති භික්ඛවේ සබ්බං" මහණෙනි, ඔබලාට සියල්ල දේශනා කරනවා, එය හොඳින් අහන්න. සියල්ල කියන්නෙ, ඇස-රූපයෝ, කන-ශබ්දයෝ, නාසය-ගන්ධයෝ, දිව-රසයෝ, කය-පොට්ඨ-බ්බයෝ, මන-ධර්මයෝ කියන කාරණා ටිකයි.

සත්වයා ආස්වාද හොයන්නෙ මේ ඉන්ද්‍රියන්ට ගෝචර වන ප්‍රිය මධුර රූපාදී අරමුණුවලින්. මේ අරමුණු තුළ සැප තියෙනවා කියන මුලාවක ඉඳගෙන අශ්‍රැතවත් පෘථජ්ජනයා කල් ගෙවනවා. ධර්මය අනුව බලනකොට ඒක සත්‍යයක් නෙවෙයි.

"ලෝකය" කියන වචනය ධර්මානුකූලව පළමුව තෝර ගන්න ඕන. ලෝ+කය කියල මේ පදය බෙදෙනවා. කය කියන වචනයෙන් පෙන්වන්නෙ ආධ්‍යාත්මික, බාහිර කාය. (චක්ඛු කාය, රූප කාය, සෝත කාය, සද්ද කාය...) ආධ්‍යාත්මික කායන් තුලින් බාහිර කායන් ලොවන එකට ලෝකය කියල කියනවා. මේ ලෙව කෑම තුළ සැප තියෙනව කියල අන්ධ බාල පෘථජ්ජනයා මුලාවට පත්වෙනවා. මේ ලෙවීමේ තියෙන්නෙ සැපයක්ද, එහෙම නැත්නම් පෙළීමක්, දාහයක්ද කියල ධර්මානුකූලව විමසල බලන්න ඕන.

සියළු සත්වයන්ටම බඩගින්න කියන දාහය ඇති වෙනවා. ඒ වෙලාවට ආහාරයක් ලැබුණොත් ඒක මහ සැපක් කියල හිතනවා. ආහාරය සැපක් කියල වැටහෙන්නෙ බඩගින්න කියන දාහය තියෙන නිසා. ආහාර අරගෙන බඩ පිරුනම ඔහුට ඒ ආහාර තව කොච්චර තිබුනත් ඒ වෙලාවට ප්‍රියතාවයක් ඇති වෙන්නෙ නෑ. ආහාරයට ප්‍රියතාවය ඇති වෙන්නෙ බඩගින්න කියන දාහය තියෙන කල් විතරයි. මෙයින් පේනවා ආහාරය තුළ සැපයක් තිබිල නෑ කියල. හැබැයි දැන්



කන්න ප්‍රිය නැති වුනාට පසුව කන්න අරන් තියාගන්නවා. රස කෑමක් කාටවත් දෙන්න කැමති වෙන්නෙ නෑ. ආහාර තුළ සැප තියෙනවා කියන මුලාව හිතේ තියෙනවා. ඒ නිසා පසුව කන්න බඩගිනි වෙනකල් බලාගෙන ඉන්නවා.

කෙනෙක් වැසිකිලි යන්නෙ මොකටද කියල ඇහුවොත්, අවශ්‍යතාවයක් ඉටු කර ගන්න, මළ පහකරන්න... ආදී නොයෙකුත් උත්තර දෙනවා. නමුත් ඒකෙ සැබෑම අර්ථය මොකක්ද? කයට මහා පෙළීමක් දාහයක් දුක් වේදනාවක් ඇතිවුන නිසයි මළ පහ කිරීම සිදු කරන්නෙ. මළ පහ කිරීමේ පෙළීම ඇති වුනාම ඒ වෙලාවට වැසිකිළිය ප්‍රිය මනාප වස්තුවක් වෙනවා. කවුරු හරි ඒ වෙලාවට වැසිකිළිය ඇතුලෙ හිටියොත්, නැත්නම් වැසිකිළිය ඇතුලට යන්න දෙන්නෙ නෑ කියල වැසිකිළි දොර යතුර දමල වහල දැම්මොත් කොයිතරම් නම් තරහක් එනවද? දැන් අර ආපු විපාක පෙළීම, විපාක දාහය, විපාක දුක් වේදනාව කොයිතරම් වැඩි වෙනවද කියල අමුතුවෙන් කියන්න ඕන නෑ. ඒ මොකද හැම දෙනාම වැසිකිලි බරේ පෙළීම හොඳ හැටි දන්න නිසා. මෙතනදි කාලයත් එක්ක වැසිකිළි යාමේ දාහය වැඩිවීම එක කාරණයක්. ඒක නිරෝධ කරන්න බැරි විපාක දුකක්. නමුත් ඒ සඳහා බාධා කළ අයත් එක්ක ගැටීම ද්වේශයෙන් ගොඩනගා ගන්න දාහයක්, දුකක්. ඒක නිරෝධ කරන්න පුළුවන්.

වැසිකිළි යාමේ පෙළීම, දාහය සංසිඳුවා ගත්තට පස්සෙ තාවකාලික සහනයක් ලැබෙනවා. දාහය, පෙළීම සමනය වුනාම වැසිකිළිය ප්‍රිය මනාප දෙයක් විදිහට හැඟෙන්නෙ නෑ. එහෙම හැඟෙනව නම් වැසිකිළි බර නැති වෙලාවටත් වැසිකිළිය හරි ප්‍රිය මනාප වස්තුවක් කියල වැසිකිළිය ඇතුළට වෙලා ඉන්න ඕන. නමුත් එහෙම කරන කිසි කෙනෙක් ලෝකයේ නෑ. ඒකෙන් පේනවා තමාත් වැසිකිළියත් අතර ප්‍රිය මනාප සම්බන්ධතාවයක් ඇති කෙරුවෙ වැසිකිළි බර කියන දාහය කියල. හැබැයි නැවත අවශ්‍ය වෙන බව දන්න නිසා ලස්සනට පිරිසිදුවට පිළිවෙලට උසස් විදිහට වැසිකිළිය හදාගෙන නඩත්තු කරනවා. ඒ වගේම රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන පංචකාමය විඳිනව වගේ වැසිකිළි යාම සැපක් කියල හිතාගෙන, වැසිකිළි යාමේ බලාපොරොත්තුවෙන් ජීවිතය පවත්වන්නෙ නෑ. වැසිකිළි යෑම සැපක් කියල උපාදාන කරන්නෙ නෑ. ඒ නිසා වැසිකිළියාමේ බලාපොරො-ත්තුවෙන් සසර ගමනක් හට ගන්නෙත් නෑ. මේ කාරණය ඒවං උප සංහරති කියන දහමට අනුව, උපමාවක් විදිහට සංසන්දනය කරල බලල පස්කම් සැප විඳීම සංසන්දනය කරල ☞

තේරුම් ගන්න ඕන.

ඉහතින් පෙන්වල දුන්න ආකාරයට ඇස, කන... ආදී ඉන්ද්‍රියන්ට ගෝචර වන ප්‍රිය මධුර අරමුණු ආස්වාදයි කියල හැඟෙන්නෙ ඒ අරමුණුවල ආස්වාදයක් තියෙන නිසා නෙවෙයි. ප්‍රිය මධුර අරමුණු විඳින්න තමන්ගෙ සිත තුළ දාහයක්, පෙළීමක් ඇති වුන නිසා. යමෙක් හිතනවනම් ප්‍රිය මධුර අරමුණුවල සැප තියෙනව කියල ඒක සම්පූර්ණයෙන්ම සිතින් ගොඩනගාගත් හිතලුවක් විතරයි. ඒක හරියට වැසිකිළි බර නැති වෙලාවට වැසිකිළිය ප්‍රිය මධුර සැප වස්තුවක් කියල හිතනව වගේ මුලා අදහසක්. හැබැයි බඩගින්න සහ වැසිකිළි යාමේ අවශ්‍යතාවය උදාහරණයක් විදිහට ගත්තට, ඒවා කය නිසා ඇතිවන විපාක දාහයන් කියල දැන ගන්න ඕන. රහතන් වහන්සේට පවා ඒ විපාක දාහය තියෙනවා. මොකද මේ කය, පෙර අවිද්‍යාවෙන් ගොඩනැගුණු ඵලයක් නිසා. පිරිනිවන් පාන දවසට තමයි ඒ විපාක දුකත් නිරෝධ වෙන්නෙ. උපමාවක් විදිහටයි මේ කාරණය සඳහන් කළේ. හැබැයි උන් වහන්සේලා කෑම රස නෑ කියල හෝ වැසිකිළිය හොඳ නෑ කියල හෝ ඒ කෙරෙහි ද්වේශයක් ඇතිකරගෙන දෙවනි දුකක් මනසින් ගොඩනගන්නෙ නෑ. ඒ දුක උන් වහන්සේලාට නිරෝධයි.

බඩගින්න කියන දාහය ඇති වුනාම ආහාරය ප්‍රිය මධුර වෙනවා. බඩගිනි ඇති කෙනා එක ආහාර පිඬක් ගානෙ ගිලිනකොට බඩගිනි දාහය ටික ටික අඩු වෙනවා. නමුත් ඔහු ආහාර ගැනීම අවසන් වෙනකල් හිටියෙ බඩගින්න තුළමයි. කටින් කට ගන්න කොට දාහය ටිකෙන් ටික අඩු වෙලා තාවකාලිකව බඩගින්න නිවීමක් සිද්ධ වෙනවා. මේ ආකාරයටම පංචකාම සැප විඳීම තුළ තියෙන්නෙ මනසේ ගොඩනැගුණු කාම දාහයේ අඩු වීම මිසක් සැප විඳීමක් නෙවෙයි. මේකෙ යථාර්ථය නොදත් අවිද්‍යා සහගත අශ්‍රැතවත් පෘථජ්ජනයා පංච කාම තුළින් ආස්වාද විඳිනව කියල රැවටීමකට අහුවෙනවා. වේදනා චෛතසිකයට වැටහෙන්නෙ සැප විඳීමක් විදිහට තමයි. ඒත් ඒකෙ යථා ස්වභාවය දකින්නෙ ප්‍රඥා චෛතසිකයෙන්.

සංයුක්ත නිකායේ 4 වන කාණ්ඩයේ එන දට්ඨබ්බ සූත්‍රයේ "සුඛා භික්ඛවේ වේදනා දුක්ඛතෝ දට්ඨබ්බා" සැප වේදනාව දුකක් විදිහට දකින්න කියල වදාරනවා. සැපය දුකක් විදිහට දකින්න නම් සැප තුළ දුක තියෙන්න ඕන. ඒකෙ දුකක් නැත්නම්, සැපයක්ම තියෙනවනම්, දුක දකින්න පුළුවන්කමක් නෑ. සැප විඳින්න ගියාම ඊට පරිබාහිරව බොහෝ දුක් ගොඩක් විඳින්න වෙනව කියල හිතුවට සැපේ දුක හරියට වැටහීමක් සිද්ධ වෙන්නෙ නෑ. තාවකාලික මානසික සමනයක් ඇති වුනත් සැප සංඥාව විඳින තැනමයි ඉන්නෙ. පෙළීම දාහය දුක කියල අවබෝධ වුනොත් අනිච්ච නිවැරදිව වැටහෙනවා. අනිච්ච නිවැරදිව වැටහුනොත් දුක්ඛ, අනත්ත දෙකත් යථාර්ථවත් විදිහට අවබෝධ වෙනවා. අනිච්ච, දුක්ඛ, අනත්ත දහම් මැනවින් වැටහුනොත් ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් වෙනවා.

මෙතනදි සැපේ දුක කියන එක දකින්න ඕන දුක්ඛං භයට්ඨේන කියන භය අර්ථයෙන්. උදාහරණයක් විදිහට විස දාපු අඹ ගෙඩියක් කන එක භයානකයි. හැබැයි අඹ ගෙඩිය රසයි.

කන්නන් මෙන් විස<br>
අඹ ඵල රිස්සේ<br>
මන් සත් තොස් කර<br>
කිම ඵල සෙස්සේ<br>
දැන් දැන් එයි මරුවා<br>
පසු පස්සේ<br>
ඉන් පින්මය කටයුතු<br>
නම් දස්සේ

මේ කාරණය මේ විදිහට ලෝ වැඩ සඟරාවේ එන කවියකිනුත් පැහැදිලි කරනවා. අඹ ගෙඩිය රස වුනාට විස අඹ කැවොත් මැරෙනවා. හැබැයි විස වුනයි කියල අඹේ රස අඩු වෙන්නෙ නෑ. ඒ රසය වේදනා චෛතසිකයට දැනෙන්නෙ. නමුත් ඒක මහා දුක් ගොඩකට හේතු වන එකක් කියල ප්‍රඥාවෙන් දකින්න ඕන. විස දාපු අඹ ගෙඩිය කොච්චර රස වුනත් කන්න හොඳ නෑ කියල දකින්න ඕන.

**යමක් පරිහරණය කරන කොට කලින් තිබිච්ච දාහය තාවකාලිකව සමනය වෙලා සැපක් විදිහට දැනිල, ඒ මොහොතෙ ඒ දේ පරිහරණය කිරීමේ අවශ්‍යතාවයෙන් මිදුනට, ආස්වාදයට තියෙන ඡන්ද රාගයෙන් මනස මිදෙන්නෙ නෑ. එහෙම මිදෙන්න නම් ඒක භය අර්ථයෙන් දකින්න ඕන. අනාගතයෙදි ඇති වෙන දුක භයානක බව දකින්න ඕන.**

හැබැයි මේ කිව්වෙ නිවන් දකින එක ක්‍රමයක් විතරයි. මීට අමතරව තවත් ක්‍රම ඕන තරම් තියෙනවා. චතුරාර්ය සත්‍යය විග්‍රහ කරන කොට පද අප්‍රමාණයි, බෙදීම් අප්‍රමාණයි, නිරුක්ති අප්‍රමාණයි කියල පෙන්වනවා. ඒ නිසා සැප කියන එකේ දුක දැකල නිවන් දැකීම එක ක්‍රමයක් විතරයි. මේ සම්මත ලෝකයේ සම්මත කරගෙන ඉන්න ලෞකික වචනවල හිර වෙලා ලෝකෝත්තර වචනවල අර්ථ තෝර ගන්න බෑ. දැන් සම්මත කර ගෙන තියෙන භාෂාව භාවිතා කරන්නෙ ලෝකයේ ඇලීම්, ගැටීම්, මුලා සහගත කටයුතුවලට. ඒවායින් මිදෙන පැත්තට යන්නෙ නෑ. දැන් තියෙන භාෂාවේ වචන හැම පැත්තකින්ම කරකවල අරගෙන තියෙන්නෙ ඇලෙන්න, ගැටෙන්න, මුලා වෙන්න. ඒ වචනවලින් නිවන් දකින දහම් අර්ථ තෝර ගන්න බෑ. දහම් වචනයි, ලෞකික වචනයි කොටස් දෙකක්. ලෞකික වචන කියන්නෙ රාග, ද්වේශ, මෝහ මුල් කරගෙන හදා ගත්තු ඒවා. දහම් වචන අලෝභ, අද්වේශ, අමෝහවලින් යුක්තයි. වීතරාගී, වීතදෝෂී, වීතමෝහී වෙන කොට ඒ මට්ටමත් ඉක්මවා යනවා. හැබැයි ඒ වචන තෝරන්න පුළුවන් සෘතවත් ආර්ය ශ්‍රාවකයෙකුට විතරයි. අසෘතවත් පෘථජ්ජනයෙකුට ඒව තෝරන්න බෑ.

අශ්‍රැතවත් පෘථජ්ජනයා පංච කාමය තුළින් ආස්වාද පසු පස හඹා යනවා. ඒක මහා සැපයක් තියෙන දෙයක් විදිහට කල්පනා කරනවා. ඒවාට රාගයෙන් බැඳෙනවා, නැවත බලාපොරොත්තු වෙනවා. ඒ නිසා පළමුව ආස්වාදවල ස්වභාවය මොකක්ද කියල ප්‍රඥාවෙන් විමසල බලන්න ඕන. සත්වයාට පංචකාමය මුල් කරගෙන රාග ගිනි, ද්වේශ ගිනි, මෝහ ගිනි කියන දාහයන්, පෙළීම් ඇති වෙනවා. පෘථජ්ජනයා මේ දාහය නැති කරගන්න දන්න ක්‍රමය තමයි කාමයන් තුළින් සැපක් ලැබෙනව කියල ඒකටම මුලා වෙලා කටයුතු කිරීම. ඒකෙන් තාවකාලිකව දාහය සමනය වෙනව හැර, රාගාදී කෙලෙස් ගිනි කිසිදා සංසිඳීමක් වෙන්නෙ නෑ. ලෝක සත්වයා දන්නෙ මේ දාහය තාවකාලිකව නැති කරගන්න වාදය විතරයි. වෙන දෙයක් ඔහු දන්නෙ නෑ. අනන්ත සසර පටන් සත්වයා භව ගමනක දුක් විඳිමින් ආවෙ මේ මුලා වැඩ පිළිවෙල නිසා.

ලොව්තුරා බුදුවරු ☞

ලෝකයට පහළ වෙලා කිසිදා වෙනස් නොවන, දුකට නොවැටෙන, භව දුකෙන් එතෙර වෙන වාදයක් දේශනා කරනවා. ඒක තමයි "ථේරවාදය" කියල සඳහන් වෙන්නෙ. ථේර කියන්නෙ තිර හෙවත් ස්ථිර කියන අදහස. ස්ථිර වශයෙන්ම සියළු දාහයන් නිට්ඨාවට අවසන් කරන වාදය තමයි ථේර වාදය. ථේර කියන වචනයේ අනිත් අදහස තමයි "එතෙර" කියන අර්ථය. සසරින් එතෙරට යන වාදය තථාගතවරු ලෝකයට දේශනා කරනවා.

සම්බුදුරජාණන් වහන්සේ "මහා සමන" කියලත් හඳුන්වනවා. කිසිදා වෙනස් නොවන කෙලෙස් සමනයක් කළ නිසා මහා සමන වෙනවා. ලෝකයා දන්නෙ කාම දාහයක්, පෙළීමක් එනකොට ඒක තාවකාලික සමනයක් කර ගන්න විතරයි. බුදුවරු සදාකාලික සමනයක් පෙන්වා දුන්නා. ඒ නිසා තථාගතවරු මහා සමන වෙනවා.

"සබ්බේ සංඛාරා අනිච්චා, සබ්බේ සංඛාරා දුක්ඛා, සබ්බේ ධම්මා අනත්තා" කියල ශ්‍රේෂ්ඨ බුද්ධ දේශනාවක් තියෙනවා. සියළු සංඛාර අනිච්චයි, දුකයි, සියළු ධර්ම අසාරයි කියල මේ කාරණය සිංහලට පරිවර්තනය කරල තියෙනවා. මෙතනදි සබ්බේ කිව්වම සියල්ල කියල අර්ථ දැක්වීම ධර්මානුකූල නෑ. "තීණි සච්චානි සංඛතා, නිරෝධ සච්චං අසංඛතා ධම්මා" කියල අභිධර්ම පිටකයේ සඳහන් වෙනවා. සිවු අරිසස් ධර්ම තුළ සත්‍යයන් තුනක් සංඛතයි. නිරෝධ සත්‍යය අසංඛතයි. ධම්ම කියන කොට නිවන නමැති අසංඛත ධර්මයත් අයිති වෙනවා. සබ්බේ ධම්මා කියන කොට සියළු ධර්ම කියල ගත්තොත් නිවනත් අයිති වෙනවා. එතකොට සබ්බේ ධම්මා අනත්තා කියන බුද්ධ වචනය අනුව නිවනත් අනත්ත අසාර ධර්මයක් බවට පත් වෙනවා. එතකොට ඒක ධර්ම න්‍යායන්ට පටහැනි වෙනවා.

මේ අනුව "සබ්බේ" කිව්වම සියළු කියන අදහස ධර්මයට ගැළපෙන්නෙ නෑ. "සබ්බ" කියන එකේ නිරුක්තියක් තියෙනවා. "ස්ව + අබ්බ = සබ්බ" කියල මේ පදය බෙදෙනවා. ස්ව කියන්නෙ තමන්, අබ්බ කියන්නෙ එල්බ ගැනීම. මමත්වයෙන් එල්බ ගැනීම තමයි සබ්බ කියන එකේ නිරුක්තිය. මමත්වයෙන් අල්ල ගන්න දේවල්වලින් සත්වයාට දුක පැමිණෙනව මිසක් සියළු ධර්මවලින් පෙළීම/ දුක ඇති වෙන්නෙ නෑ.

චිත්ත සංඛාර, වචී සංඛාර, කාය සංඛාර රහතන් වහන්සේටත් තියෙනවා. වේදනා, සංඥා - චිත්ත සංඛාර, විතර්ක විචාර - වචී සංඛාර, ආස්වාස පාස්වාස - කාය සංඛාර කියල කොටසක් තියෙනවා. සබ්බේ සංඛාරා අනිච්චා දුක්ඛා කියන දේශනාවට "සියළු සංඛාර" කිව්වොත් රහතන් වහන්සේට පවතින ඉහත සංඛාරත් ඇතුළත් වෙනවා. එතකොට අනිච්ච කියන පෙළීමත්, ඒ තුළින් හටගන්න දුකත් රහතන් වහන්සේටත් තියෙන්න ඕන කියන අදහස එනවා. එතකොට ඒක ධර්මයට පටහැනි කාරණයක් වෙනවා. මමත්වයෙන් එල්බගත් සංඛාර නිසා තමයි සත්වයාට පෙළීම, දුක පහළ වෙන්නෙ. සබ්බේ සංඛාරා කියල හඳුන්වන්නෙ ඒ කාරණය. හැබැයි මේ කියන්නෙ විපාක දුක නෙවෙයි.



ජිගච්ඡා පරමා රෝගා
සංඛාරා පරමා දුකා
ඒතං ඤත්වා යථා භූතං
නිබ්බාණං පරමං සුඛං
(ධම්ම පදය)

"ජි + ගච්ඡා =ජිගච්ඡා" මේ ජි කියන්නෙ අසූචි. ගච්ඡා කියන්නෙ යාම (ගච්ඡාමි). පංච කාමය නැමති ජී ප්‍රියයි මධුරයි කියල සිත ඒ තුළටම ගමන් කරනව නම් ඔහු පරම කෙලෙස් රෝගියෙක්. ජිගච්ඡා පරමා රෝගා කියන එකේ පරමාර්ථ තේරුම ඒකයි. සම්මත අර්ථය තමයි බඩගින්න ලොකුම රෝගයයි කියන එක. "සංඛාරා පරමා දුකා" සංඛාර පරම දුකෙන් යුක්තයි. " ඒතං ඤත්වා යථා භූතං" මෙහි යථා තත්වය යමෙක් මැනවින් ප්‍රඥාවෙන් වටහ ගන්නව නම් "නිබ්බානං පරමං සුඛං" බානෙන් (බැඳීමෙන්) නික්මීම නම් පරම ශාන්ත නිවන් සුවයට පත් වෙනවා.

ඉහත ධම්ම පද ගාථාවේ "සංඛාරා පරමා දුකා" සංඛාරයෝ පරම දුක බව තථාගතයන් වහන්සේ දේශනා කරනවා. ඒ නිසා පංච කාමයන් තුළින් ගොඩ නගන චිත්ත, වචී, කාය සංඛාරයන් තුළ දුක මිසක් සැප මාත්‍රයක්වත් තියෙන්න විදිහක් නෑ. සත්වයාගේ අවිද්‍යාව නිසා දාහයේ අඩු වීමට සැප විඳිනව කියල රැවටෙනවා. එහෙම රැවටිලා ඒ සුවය බලාපොරොත්තුවෙන් රාගයෙන් බැඳෙනවා. රාගය ගින්නක්. "නත්ථි රාග සමෝ අග්ගි" කියන දේශනාවෙන් රාගය හා සමාන තවත් ගින්නක් නෑ කියල සම්බුදු නුවණින් දේශනා කරල තියෙනවා. ද්වේශ, මෝහත් ගිනිවලින් යුක්තයි. ගිනිවල ස්වභාවය තමයි දවන තවන පෙළන ස්වභාවය. ගින්නක් තුළ සිසිලක්, සැප මාත්‍රයක්වත් තියෙන්න ඉඩක් නෑ. ඒ අනුව රාග, ද්වේශ, මෝහයෙන් හිතන, කියන, කරන සියල්ල තුළම තියෙන්නෙ දැවෙන තැවෙන පෙළෙන ස්වභාවය. ඒ නිසා තමයි සබ්බේ සංඛාරා අනිච්චා දුක්ඛා කියල දේශනා කරල තියෙන්නෙ.

සිතට ප්‍රිය මධුර අරමුණක් දැනෙන විඳින මොහොත තුළම, මට මේ හිතට ආවෙ අනිච්ච හෙවත් පෙලෙන, දැවෙන ස්වභාවයක්, මේ ප්‍රිය මධුර කියල රවට්ටන්නෙම පෙළීම දාහය කියල ප්‍රඥාවෙන් දැක ගන්න පුළුවන් වුනොත්, ඒ පෙළීම එතනම අත්හැරී නොඇලී මිදී යන්න හේතු වෙනවා. "පච්චුප්පන්නස්ස යං ධම්මං තත්ථ තත්ථ විපස්සති" රාගාදී ප්‍රත්‍යයන් උපදින ඒ ඒ මොහොත තුළම විදර්ශනා කරන්න කියල වදාළේ ඒ කාරණය.

දුකෙන් මිදෙන ක්‍රමය ආස්වාද, ආදීනව, නිස්සරණ තතු සේ දැකීම කියල විග්‍රහ වෙනවා. ප්‍රිය මධුර අරමුණු සිතට ආවම ඒ අරමුණු රසය විඳල දාහය සමනය කර ගන්න වාදයක් ලෝක සත්වයා සිද්ධ කරනවා. ඒ කාම දාහය අස්කරගන්න වැඩ පිළිවෙලේ ආදියත්, නවයත් දකින්න ඕන. ඒක තමයි ආදීනවය දකිනව කියන්නෙ. මේක උදාහරණයකින් මේ විදිහට තේරුම් ගන්න පුළුවන්.

කෙනෙක් මහ දවල් තද ඉර අව්වෙ ගමන් කරනවා. ඔහුට දාඩිය දමල මහ පෙළීමක් දාහයක්

කයට ඇති වෙනවා. මේ විදිහට අව්වෙ යන කෙනාට හොඳ සෙවණ තියෙන ගහක් හමුවෙනවා. ඔහු ඒ ගහ යට සැපයි කියල හිතල එතනට යනවා. ඔහුගේ ඒ සිතීම හිතලුවක් මිසක් ඇත්තක් නෙවෙයි. ඒ මොකද දාහයක් නැති වෙලාවට ගහ යට සිටීම සැපක් කියල නොහිතන නිසා. ගහ යටට පැමිණි කෙනා, මෙතන හිටියත් දාහය තව ඉවර වුනේ නෑ කියල ගෙයක් ඇතුළට යනවා. ගේ ඇතුළෙ සැප තියෙනව කියල හිතනවා. නමුත් ඔහු තවම ඉන්නෙ දාහය තුළමයි. ගෙදර ඉන්න කෙනා වායු සමීකරණය කරපු කාමරයකට යනවා. එතන සැපයි කියල හිතනවා. එතැනත් ටික වෙලාවක් ඉන්නකොට එපා වෙනවා. ගිනි අව්වෙ හිටපු තැන පටන් ඒ ඒ තැන සැප තියෙනව කියල ආස්වාදය හොයාගෙන ගියත් ඔහු වායු සමීකරණය කරපු කාමරය දක්වා ගිය ගමන තුළ සැපක් විඳල නෑ. සිද්ධ වෙලා තියෙන්නෙ දාහයේ ප්‍රමාණය ටික ටික අඩුවීම විතරයි. මේ දාහයේ අඩුවීමට සැප විඳිනවා කියල ලෝක සත්වයා රැවටෙනවා.

ආස්වාදයේ ආදීනව දකින්න කියල තථාගතයන් වහන්සේ වදාරණවා. ආස්වාදය කියන්නෙ, ඇති වෙච්ච දාහය අඩු කරගන්න ඒ ඒ තැන සැප තියෙනව කියල හොයාගෙන යෑම. නමුත් අවසානය දක්වා ඉඳල තියෙන්නෙ දාහය තුළමයි. මේ දාහය සැප කියල ගැනීම තමන්ම රවටා ගැනීමක් මිසක් යථාර්ථයක් නෙවෙයි.

තද අව්වෙ දාඩිය පෙරමින් මහා දාහයට පත් වෙලා ගහ ළඟ සැප තියෙනව කියල එතනට යනවා. ආදිය හෙවත් ගිනි අව්වෙ ගිය අවස්ථාවත්, නව හෙවත් ගහ යටට ආපු අවස්ථාවත් යන දෙකේදිම ඔහු විඳල තියෙන්නෙ දාහය විතරයි. ආදියෙත් දාහය, නව තත්වයෙත් දාහය. ආස්වාද තුළ ආදීනව (ආදි + නව) දකිනවා කියන්නෙ අවස්ථා දෙකේදිම විඳල තියෙන්නෙ පෙළීමක් බව අවබෝධ කර ගැනීම. වායු සමීකරණය කරපු කාමරය දක්වා සිද්ධ වෙච්ච මුළු ක්‍රියාදාමය තුළම තියෙන්නෙ ආදී + නව තත්වය. සත්වයා සැපයි කියල හිතින් ගොඩනගා ගන්නෙ මේ මුලා වැඩ පිළිවෙල. දුකම හටගෙන දුකම පැවතිලා දුකම ගෙවිල යනවා.

"උප්පාදෝ දුක්ඛං, උප්පාදෝ භයං" දුකක්, බයක් හටගෙන දුක් අඩු වෙලා යාම සැප විදිහට ගැනීම තරම් තවත් මුලාවක් ලෝකයේ තියෙනවද? මේ යථාර්ථය තථාගතයන් වහන්සේ නමක්ම ලෝකයට පහළ වෙලා දේශනා කරනව ඇරෙන්න වෙනත් කාටවත් පෙන්වා දෙන්න බෑ.

**සැප වේදනා දුක් විදිහටත්, දුක් වේදනා උල් විදිහටත්, උපේක්ෂා වේදනා අනිච්ච විදිහටත් මනසින් දකින කෙනා තෘෂ්ණාව බිඳල සංයෝජන මුලිනුපුටා දමල, මානය දුරුකරල සියළු දුක් කෙලවර කරන** බව සංයුක්ත නිකායේ දට්ඨබ්බ සූත්‍රයෙන් දේශනා කරල තියෙනවා.

වේදයිත හෙවත් විඳින සැප, දුක්, උපේක්ෂා සියල්ල අනිච්ච බව සංයුක්ත නිකායේ අනිච්ච සූත්‍රයේ සඳහන් කරල තියෙනවා.

තිස්සෝ වේදනා අනිච්චා, සංඛතා, පටිච්ච සමුප්පන්නා ඛය ධම්මා, වය ධම්මා, විරාග ධම්මා, නිරෝධ ධම්මාති.

සැප වේදනාව තුළ අනිච්ච තියෙනව නම් ඒකෙ සුඛාස්වාදයක් තියෙන්න විදිහක් නෑ. ඒ මොකද අනිච්ච තුළ තියෙන්නෙ පෙළෙන ස්වභාවය. (අට්ඨීයති) යමක අනිච්ච තියේ නම් දුක්ඛ, අනත්ත දෙකත් අනිවාර්යෙන්ම තියෙන්න ඕන. "සුඛා භික්ඛවේ වේදනා දුක්ඛතෝ දට්ඨබ්බා" කියන බුදු වදන තුළ, සුඛය තුළ දුක තියෙන බව දේශනා කරල තියෙනවා. යමක් තුළ දුක තියේනම් ඒ තුළ අනිච්ච, අනත්ත ධර්මත් තියෙන්න ඕන. මේ අනුව සැපයි කියල හිතින් හදාගෙන තියෙන මුලාව තුල තියෙන්නෙ තනිකර පෙළීම, දුක් බව, අසාර බව කියන ලක්ෂණ තුන. මේ පංච කාමයන් තුළ සැප මාත්‍රයක්වත් පවතින්න අවකාසයක් නෑ. සැප, පංචකාමය තුල සැප තියෙනව කියන එක හිතින් හදාගත් හිතලුවක් කියන්නෙ ඒ නිසා. හැබැයි වේදනා චෛතසිකයට නම් ඒක සැප බව තමයි වැටහෙන්නෙ. ඒක දුක බව වැටහෙන්නෙ ප්‍රඥා චෛතසිකයෙන්.

"අට්ඨී කංඛලූපමා කාමා" කාමයෝ මස් ලේ නැති ඇට කැබැල්ලක් වගේ. මේ කාරණය තවත් හොඳින් පැහැදිලි කරගන්න ලෝ වැඩ සඟරාවේ හරවත් කවියක් තියෙනවා.

මස් ලේ නැති ඇට
බලු ලෙව කන්නේ
කුස් පිරුමක්
ඵලයක් නොලබන්නේ
ලෙස් ඒ සැපතෙහි
සැප නොසිතන්නේ
දොස් නොපෙනෙනු
මිස දුක්මයි වන්නේ

මස්වත් ලේවත් නැති ඇටයක් බල්ලෙක් හපා කෑවට උගේ කුස පිරීමක් වෙන්නෙ නෑ. ඇටය හැපීම නිසා කට තුවාල වෙලා ලේ රහ දැනෙන කොට බල්ල හිතනවා මේ ඇටේ තියෙන රහ කියල. ඒ නිසා ඌ තව තවත් ඇටේ හපා කනවා. ඒකෙන් ඌ වෙහෙසට පත්වෙනව මිසක් කුස පිරීමක් කිසිදාක සිද්ධ වෙන්නෙ නෑ. කාමයත් සැපයි කියල, ඒ පසුපස ආස්වාද තියෙනව කියල හඹායාමත්, බල්ලො මස් ලේ නැති ඇට හපා කනව වගේ නිරර්ථක වැඩක්. ඒ නිසා "අට්ඨී කංඛලූපමා" කියල කාමයන් ඇටයකට උපමා කරල තියෙනවා.

ආස්වාදයක් තියෙන නිසාම සත්වයා සසර සැරිසරනවා, ආදීනවයක් තියෙන නිසාම සත්වයා සසරින් මිදෙනවා කියල බුද්ධ දේශනාවක් තියෙනවා. මේ මතුපිටින් පේන අර්ථය බලල පෘථජ්ජනයො පංච කාමයන් තුළ සුඛාස්වාදයක් තියෙනව කියල වැරදි වැටහීම් ඇති කරගන්නවා. ආස්වාදය කියන වචනය මීට පෙරත් විස්තර කළා. සිතට ප්‍රිය මධුර අරමුණක් ආවම සත්වයාට දාහයක් පෙළීමක් ඇති වෙනවා. ඒ ප්‍රිය මධුර බව විඳිනකොට දාහය අඩුවීම නිසා සත්වයා ඒ තුළ සැප විඳිනව කියන මුලාවක් ඇති කරගන්නවා. ඒ මුලාවට රැවටෙන නිසාම සත්වයා සසර ගමනක යෙදෙනවා. ආස්වාදයක් ඇති නිසාම සත්වයා සසර ගමනක යෙදෙනවා කියන එකේ අර්ථය ඒකයි. එහෙම නැතිව සුඛ ආස්වාදයක් තියෙනවා කියන අදහසක් මේකෙන් අදහස් වෙන්නෙ නෑ. හැබැයි වේදනා චෛතසිකයට ඒක සුඛාස්වාදයක් හැටියට තමයි දැනෙන්නෙ.

ආදීනවයක් ඇති නිසාම සත්වයා සසරින් මිදෙන බව සඳහන් වෙනවා. දාහය, පෙළීම ඇති වෙන කොට ඒකෙ ආදියෙත්, නව තත්වයෙත් තියෙන්නෙ දාහය දුක බව දකින කෙනා සසරින් මිදෙනවා කියන එකයි ඒකෙ අදහස. මේ විදිහට ☞

ආස්වාදයත්, ආදීනවයත් තතු සේ දකින්න කියල තථාගතයන් වහන්සේ වදාළේ ඒ විදිහට නුවණින් දකින කොට නිස්සරණයට පත්වෙන නිසා. මේ විදිහට ආස්වාද, ආදීනව, නිස්සරණ තතුසේ දකින කෙනා ශ්‍රමණයන් අතර ශ්‍රමණයෙක්, බ්‍රාහ්මණයන් අතර බ්‍රාහ්මණයෙක් වෙනවා. එහෙම නොදන්න කෙනා ශ්‍රමණයෙක්වත් බ්‍රාහ්මණයෙක්වත් වෙන්නෙ නෑ. ආස්වාද, ආදීනව තතු සේ දකිනව කියන්නෙ ඒකෙ තත්වය මොකක්ද කියල දකීම. තත්වය නම් පෙළීම, දාහය දුක මිසක් වෙන සැපක් ඒ තුළ නෑ. තත්වය නම් සෝචනීයමයි.

මජ්ජිම නිකායේ මහා කම්ම විභංග සූත්‍රයේ, සමිද්ධි කියන භික්ෂුව පෝතලී පුත්‍ර පරිබ්‍රාජකයාට සියල්ල දුකයි කියල ප්‍රකාශ කිරීම නිසා නිගරු කළ බව සඳහන් වෙනවා. මේකත් කෙනෙකුට වැරදි වැටහීමක් ඇති කරන්න පුළුවන්, සියල්ල දුක නෙවෙයි සැපත් තියෙන බව බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනව කියල. ලෝකයේ සියල්ල දුක වුනත්, කෙනෙකුට එකපාරටම සියල්ල දුකයි කියල කිව්වම වැරදි වැටහීමක් ඇතිවෙන්න පුළුවන්. ධර්මයක් අහන්නවත් අකමැති වෙන්න පුළුවන්. අනු පූර්වව බෙදල ප්‍රකාශ කළ යුතු ප්‍රශ්නය ඒකාන්තයෙන් විසඳපු නිසයි තථාගතයන් වහන්සේ සමිද්ධි භික්ෂුවට මෝඝ පුරුෂයා කියල ඒ විදිහට නිග්‍රහ කළේ. එහෙම නැතිව සියල්ල දුකෙන් යුක්ත නොවන නිසා නෙවෙයි.

සියල්ල දුකයි කියන කාරණයත් හොඳින් වටහගන්න ඕන. සිය + අල්ල කියල මේක පද වෙන් කරන්න පුළුවන්. සිය කියන්නෙ තමා. අල්ල කියන්නෙ අල්ලා ගැනීම. තමා විසින් අල්ලා ගැනීම තමයි සියල්ල කියන එකේ නිරුක්ති අර්ථය. තමා විසින් අල්ලගත් දේවල්වලින් තමයි දුක පහළ වෙන්නෙ. එහෙම නැතිව අල්ලගත්තෙ නැති දේවල්වලින් දුක හට ගන්න හේතුවක් නෑ. අල්ලගත්තු දෙයක් රැකගන්න ගිහින්, පරිහරණය කරන්න ගිහින් තමයි දුක එන්නෙ. මේ අනුව සියල්ල දුකයි කීම කොච්චරනම් සත්‍යයක්ද? ලෝකය මුලාවෙන් අල්ල ගන්න නිසාමයි සත්වයාට දුක, දාහය, පෙළීම ඇති වෙන්නෙ.

එක දේවතාවෙක් තථාගතයන් වහන්සේගෙන් මේ විදිහට ප්‍රශ්නයක් අහනවා. "කිස්මිං ලෝකෝ පතිට්ඨිතෝ" ස්වාමීනි, ලෝකය පිහිටල තියෙන්නෙ මොකක් උඩද? "දුක්ඛේ ලෝකෝ පතිට්ඨිතෝ" දිව්‍ය පුත්‍රය ලෝකය පිහිටල තියෙන්නෙ දුක මතයි කියල පිළිතුරු දෙනවා. මේ දේශනාව සංයුක්ත නිකායේ දේවතා සංයුක්තයේ සඳහන් වෙනවා. **ලෝකය තුළ අල්පමාත්‍ර වූ හෝ සැපක් තියෙනවනම් ලෝකය දුක මත පිහිටල තියෙනව කියල තථාගතයන් වහන්සේ නමක් දේශනා කරන්නෙ නෑ.** තවත් අවස්ථාවක බුදු පියාණන් වහන්සේ භික්ෂූන් වහන්සේලා අමතල මේ විදිහට වදාරණවා. "අප්පමත්තකම්පි භික්ඛවේ භවං න වණ්ණේමි අන්තමසෝ අච්ඡරා සංඝාත මත්තම්පි" මහණෙනි මේ කාම, රූප, අරූප කියන තුන් භවයම ස්වල්පයක්වත් හොඳයි කියල වර්ණනා කරන්නෙ නෑ. අඩුම වශයෙන් අසුරු සැනක් ගහන තරම් වෙලාවක්වත් භවය හොඳයි කියල මම කියන්නෙ නෑ.

"යං කිඤ්චි වේදයිතං සබ්බං තං දුක්ඛස්මිං" වේදයිත (විඳින) සියළු සැප වේදනා, දුක් වේදනා, උපේක්ෂා වේදනා දුකෙන් යුක්ත බවයි තථාගතයන් වහන්සේලා දේශනා කරන්නෙ. සංයුක්ත නිකාය 2 <u>කළාර සූත්‍රයේ</u> මහා ප්‍රාඥ සැරියුත් මහ රහතන් වහන්සේත්, සැප දුක් උපේක්ෂා කියන ත්‍රිවිධ වේදනා දුකෙන් යුක්ත බව පැහැදිලි කරල තියෙනවා. (සුඛා වේදනා, දුක්ඛා වේදනා, අදුක්ඛම සුඛා වේදනා ඉමා ඛෝ ආවුසෝ තිස්සෝ වේදනා අනිච්චා, යද නිච්චං තං දුක්ඛන්ති විදිතං ස.නි.2 කළාර සූත්‍රය)

අශ්‍රැතවත් පෘථජ්ජනයා දාහයේ අඩුවීම සැප/ආස්වාද විදිහට ගන්නවා. ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවකයා ආස්වාදය පෙළීමක්, දාහයක්, අසහනයක් බව වටහා ගන්නවා. ඒ තුළින් ඔහු පෙළීම නම් වූ අනිච්ච වටහාගෙන අනිච්ච සියල්ල දුකෙන් හා අසාරත්වයෙන් යුක්ත බව ප්‍රඥාවෙන් දැක දැක සසරින් එතෙර වෙනවා.

"සබ්බේ සංඛාරා අනිච්චාති, සබ්බේ සංඛාර දුක්ඛාති, සබ්බේ ධම්මා අනත්තාති" සියළු සංඛාර, පෙළෙන දුක ඇතිවෙන සියළු ධර්ම අසාර බව "යදා පඤ්ඤාය පස්සති" යම් දිනක ප්‍රඥාවෙන් දක්කොත්, "අථ නිබ්බින්දති දුක්ඛේ" සංඛාර නම් දුකෙහි නොබැඳෙයිද, "ඒස මග්ගෝ විසුද්ධියා" එය විශේෂ ශුද්ධියට මාර්ගය බව ප්‍රඥාවන්තයෝ දැක දූන සසර දුක් නිවා ගන්නවා.

ඉහත පාලි පාඨ අර්ථ දක්වන කොට "සියළු" කියන වචනය යොදාගෙන තියෙනවා. මේක මීට පෙරත් නිරුක්ති සහිතව පෙන්වා තියෙන නිසා 'සියළු' ශබ්දය වටහා ගන්න ඕන.

**කිවුල්දෙණියේ විජිතානන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**
**071-6839346**

# අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය

සුගතිය, නිවන පූර්ණ කර ගැනීමේ පහසුව පිණිස ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන්, පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ බේත් හා ප්‍රතිකාර ක්‍රම ඇසුරින් කෙරෙන, අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය සෑම ඉරිදා දිනකම උදෑසන 7.00 සිට වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී පැවැත්වෙන අතර රෝග විමර්ශනය සහ සියලු රෝග සඳහා ඖෂධ ප්‍රතිකාරද කරනු ලැබේ. වැඩි විස්තර සඳහා පහත දුරකථන අංකවලින් විමසන්න. (ගමන් මාර්ගය 32 පිටුවේ දක්වා ඇත.)

0777-193907 / 071-8585621 / 078-4891332 / 077-1620072

# කුසල් උපදවන මහ පින් අටක්

බුදුන් වහන්සේ කුසල් උපදවන මහ පින් අටක් දේශනා කරල තියෙනවා. ඒවා අට මහ කුසල් කියල හඳුන්වනවා. මල් පූජා කිරීම පිනක්. විදර්ශනා කරල, මල් පූජා කිරීම පිනක් වගේම කුසලයකුත් වෙනවා. පින කියන්නෙ සැප විපාක දෙන දෙයක්. කුසලය කියන්නෙ සැප විපාක වගේම නිවන් දකින්නත් උපකාර වෙන දෙයක්. ඒ නිසා කුසල් උපදවන පිනක් නම් ඒක විශේෂයෙන් වැදගත් වෙනවා.

අංගුත්තර නිකායේ 5 වෙනි කාණ්ඩයේ 166 වෙනි පිටුවේ එන පුඤ්ඤාභිසන්ද සූත්‍රයේ මේ විදිහෙ කරුණු අටක් බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. පින් උපදවන, කුසල් උපදවන, සැප ළඟා කර දෙන, සුව දෙන, සැප විපාක තියෙන දෙව් ලොව ඉපදීමට හේතුවන, ඉෂ්ඨ වූ කාන්ත වූ මනාප වූ හිත සුව පිණිස පවතින්නා වූ කරුණු අටක් තියෙනවා.



1. "ඉධ භික්ඛවේ අරිය සාවකෝ බුද්ධං සරණං ගතෝ හෝති..." බුදුන් සරණ ගිය අරි සව්වකු වීම, මහා පින් උපදවන මහා කුසල් උපදවන... කරුණක්. හැබැයි මම බුදුන් සරණ යමි කියන වචන ටික කිව්වට මදි. අරි සව්වෙක් වෙන්නත් ඕන. කලණ මිතුරෙක්ගෙන්, මනා සිහි නුවණින් යුක්තව සද්ධර්ම ශ්‍රවණය කිරීමෙන් බුදුන් වහන්සේගෙ ගුණ දැනගෙන, බුදුන් වහන්සේ ඒකාන්තයෙන්ම සම්මා සම්බුද්ධයි කියල වැටහීමෙන් සරණ ගියොත් තමයි අරි සව්වෙක් වෙන්නෙ.

2. "පුනච පරං භික්ඛවේ අරිය සාවකෝ ධම්මං සරණං ගතෝ හෝති..." දහම් සරණ ගිය අරි සව්වකු වීම තමයි මහා පින් උපදවන, මහා කුසල් උපදවන...දෙවෙනි කරුණ. බුදු ගුණ දැනගෙන සද්ධාවෙන් බුදුන් සරණ ගිය තැනැත්තා, ඒ දහම ඒකාන්තයෙන්ම සසර දුක කෙළවර කරල, උතුම් නිවන සාක්ෂාත් කර දෙන්නා වූ දහමක් කියල වටහා ගන්නවා. මේ සසර දුකයි කියන්නෙ මොන හේතුවක් නිසාද? ඒ දුක ඇති වුනේ මොකක් නිසාද? ඒ දුක නැති කරන්න පුළුවන්ද? ඒ දුක නැති කරන මාර්ගය, පිළිවෙත මොකක්ද? මේ කාරණා සද්ධර්ම ශ්‍රවණයෙන් දැන ගන්නවා. දැනගෙන ඒ මග අනුගමනය කරන්න පටන් ගන්නවා. වචනවලින්, මම දහම් සරණ යමි කියනවට වඩා මේ විදිහට අවබෝධයෙන් සරණ යැමෙන්, ධර්මය සරණ ගිය අරි සව්වෙක් වෙනවා.

3. ''පුනච පරං භික්ඛවේ අරිය සාවකෝ සංඝං සරණං ගතෝ හෝති..." සංඝයා සරණ ගිය අරි සව්වකු වීම තමයි මහා පින් උපදවන, මහා කුසල් උපදවන... තුන්වෙනි කරුණ. ඇස, කන ආදී ඉඳුරන්ට ගෝචර වන, රූපාදී අරමුණු හේතුවෙන් ගොඩනැගෙන කෙලෙස් සමග ගැටී ගැටී, ඒවා සිඳ බිඳ දැමීමට යා වෙලා කටයුතු කරන, අන්‍යයන්ටත් ඒ මග පෙන්වාදෙන පිරිසටයි සංඝයා කියන්නෙ. සංග කියන්නෙ කෙලෙස්වලට කියන තවත් නමක්. හැබැයි මෙතනදි සංඝ කියන්නෙ කෙලෙස්වලට නෙවෙයි. "සං" කියන එකතුව බිඳ හැරීමට කටයුතු කිරීම තමයි සංඝ කියන්නෙ. ඒ නිසා කෙලෙස්වලට යාවෙලා ඉන්න පිරිස නෙවෙයි සරණ යා යුතු වෙන්නෙ. කෙලෙස් සිඳ බිඳ හැරීමට කටයුතු කරමින්, සැරියුත් මුගලන් මහ රහතන් වහන්සේලාගේ පටන් පරපුරෙන් පරපුරට පැවතගෙන එමින්, ලෝකයාට සද්ධර්මය විද්‍යමාන කරන්නා වූ මහා සංඝ රත්නයයි සරණ යායුතු වෙන්නෙ. උන්වහන්සේලා යහපත් වූ ධර්ම මාර්ගයට බැසගෙන ඒකාන්තයෙන්ම ඍජුවම නිවන කරා ගමන් කරමින්, ඥාන සම්ප්‍රයුක්තව සමගිව කටයුතු කරමින්, ලෝකයාට සෙත පිණිස සුව පිණිස ධර්මය දේශනා කරනවා. ඒ අය සමග එකමුතු වෙලා, පැහිලා, වන්දනාමාන පුද සත්කාර කරල, අපිත් ඒ අය අනුගමනය කරන්න සුදුසුයි කියල කරුණු තේරුම් අරගෙන, සංඝයාගේ ගුණ දැකල පැහැදිලා සරණ යැමෙන් තමයි සංඝයා සරණ ගිය අරි සව්වෙක් වෙන්නෙ. මේ විදිහට ගුණ දැකල පැහැදිලා, සද්ධාවෙන් බුදුන්, දහම්, සඟුන් සරණ ගිය අරි සව්වෙක් වීමෙන්, සුව එළවන්නා වූ, අග සැප දෙන, සැප විපාක ඇති දිව්‍ය ලෝක සැප ගොඩ නගා දෙන, ඉෂ්ඨ වූ, භව දුක නසන, මනාප වූ, හිත සුව පිණිස පවත්නා වූ, පින් කුසල් ඉපදීමට හේතුවන, මහ පින් මහ කුසල් අත් කරගත් අයෙක් වෙනවා.

"පඤ්චිමානි භික්ඛවේ, දානානි මහා දානානි... මහණෙනි, දාන නම් වූ මහා දාන පහක් තියෙනවා."

1."පාණාති පාතා පටිවිරතෝ හෝති..." පර පණ නැසීමට කැමැත්තෙන් නොබැඳීම තමයි මහා පින් උපදවන, මහා කුසල් උපදවන... සිව් වැනි කරුණ. බුදුන්, දහම්, සඟුන් සරණ ගිය ආර්ය ශ්‍රාවකයා, මේ තුන් ලෝකයේ පවත්නා කිසිවක් නිච්ච, සුඛ, අත්ත වශයෙන් ගන්නෙ නෑ. ''සං'' කියන ඇස, කන, නාසය, දිව, කය, මන කියන අභ්‍යන්තර ලෝකයත්, රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන බාහිර ලෝකයත් අපිට කැමති විදිහට පවත්වන්න බෑ. ඒවාට උරුම සංඛාර දුක්ඛ, දිරායාම ආදී විපරිනාම දුක්ඛ, වැනසීම, මරණය ආදී ☞

ධර්මතාවයන්ට ගොදුරුවන සතර මහා ධාතුන්ගේ සකස් වීම් පමණයි. ඒවා සාරයි වටිනවා කියල ගත්තොත් සං+සාර භව දුක විඳින්න වෙනවා. එබඳු දේ ''මම'' කරගෙන, ''මගේ'' කරගෙන මොනව ලබාගන්න, මොන ආස්වාද විඳින්න ප්‍රාණඝාත කරන්නද කියල ලෝක ස්වභාවය තත්වාකාරයෙන් දැනගෙන, ප්‍රාණ ඝාතයෙන් වෙන් වෙනවා. ඔහුට කිසිම සත්වයෙක්ගෙ දිවි තොර කරල ලබාගන්න තරම් වටිනා හරවත් කිසිවක් මේ තුන් ලෝකයේම නෑ. ඒ නිසා ඔහු සියලු ලෝ සතුන්ට අභය දානය දුන් කෙනෙක් වෙනවා.

මරණයට කැප වෙච්ච සතෙක් ඒ මරණයෙන් නිදහස් කළත්, පෙර කරපු අකුසල විපාකය ඒ සත්වයා කරා කොයි මොහොතක හෝ ඇදිල එන්න පුළුවන්. කිසියම් කාලයක දැහැමි පාලනයක් ඇති වෙලා, කිසිවෙක් තවත් සතෙක් මරන්නෙ නැත්නම්, ප්‍රාණඝාත කරන්නෙ නැත්නම්, ඒ කාලයෙදි ඔය කියන විදිහෙ අභය දානයක් දෙන්නෙ කොහොමද කියල හිතල බලන්න. දැහැමි පාලනයක් ඇති කාලවලදි මිනිස්සු පින් දහම්වල යෙදෙනවත් වැඩියි. ඒ නිසා අභය දානය කියන කාරණයත් සිදුවිය යුතුයි. එතකොට **නියම අභය දානය කියන්නෙ ප්‍රාණඝාතය නොකිරීම සඳහා තමන්ගෙම මනස සකස් කරගැනීම** කියල මෙයින් පැහැදිළි වෙනවා. භය නැති බව දීම - අභය දානයයි. මේ අභය දානය පිළිබඳව මේ වෙනකොට හොඳ අර්ථ විග්‍රහයක් කෙරෙන්නෙ නැති නිසා, පන්සිල් ගන්න බෞද්ධ පිරිසවත් මේකෙ තියෙන ගැඹුරු දර්ශනය දකින්නෙ නෑ. ඒ නිසා මස් පිණිස සතුන් මරවන පිරිසගේ පසුම්බි නම් තර වෙනවා.

දීම, ලැබීමට හේතු වෙනවා. අප්‍රමාණ සියලු ලෝ සතුන්ට අභය දානය දෙන, වෛර නොකරන, නිදුක් බව දෙන ආර්ය ශ්‍රාවකයාට අප්‍රමාණ වූ අභය ලැබෙනවා, අවෛරය ලැබෙනවා, සසර බිය දුරු වෙනවා. "අග්‍ර යයි දත යුතු, වංශ යයි දත යුතු, පෙර විසූ නුවණැතියන් මහණ බමුණන් විසිනුදු වර්ණනා කරන ලද, දානයන් අතුරින් පළමුවන දානයයි, මහා දානයයි. (පඨමං දානං, මහා දානං...) සංඛ්‍යාවකින් මෙපමණ යයි කිව නොහැකි, උසස් බව මෙපමණ යයි කිව නොහැකි, මේ සිවුවන මහා පින, මහා කුසලය ඇසුරින් සැප උපදවනවා. සැප විපාක දෙන ස්වර්ගයේ උපත ලැබීමට හේතු වෙනවා. අග්‍ර සුව දෙනවා. ඉෂ්ඨයි. කාන්තයි. පහන් බව අවසන් කරයි. මනාප වූ දේ ලබයි. හිත පිණිස සැප පිණිස පවතිනවා..." මේ විදිහට බුදුන් වහන්සේ මේ අභය දානය වර්ණනා කරල තියෙනවා.

2.''අදින්නා දානා පටිවිරතෝ හෝති...''. නුදුන් දෙය ගැනීම කෙරෙහි කැමැත්තෙන් නොබැඳෙමි. මහා පින් උපදවන, මහා කුසල් උපදවන... පස්වෙනි කරුණ තමයි මේ. මේ තුන් ලෝකයේ පවතින හැම වස්තුවක් කෙරෙහිම උදයංගම, අත්තංගම, ආස්වාද, ආදීනව, නිස්සරන කියන අවස්ථා පෙළක් ක්‍රියාත්මක වෙනවා. ස්ථිරව නොපවතින නමුත් ස්ථිරව පවතින බවක් විද්‍යමාන කරනවා. ඒවා නොකැඩී, නොබිඳී, විනාස නොවී ස්ථිරව පවතින්නෙ නෑ. ඒවායේ ඇති ආස්වාද මාත්‍රයට ඇලුම් කිරීමෙන් දුකට වෙහෙසට පත් වෙනවා. පිපාසයට කරදිය බොන කෙනෙකුට පිපාසය නිවෙන්නෙ නෑ. තව තව පිපාසය දැනෙනව වගේ, ආස්වාදයට කැමැත්තෙන් බැඳුනොත් වෙහෙසට දුකට පත්වෙනවා කියන කාරණය, සද්ධර්මය ශ්‍රවණය කරපු බුදුන්, දහම්, සඟුන් සරණ ගිය ආර්ය ශ්‍රාවකයා දන්නවා. ඒ නිසා ඔහුට ලෝකයාගේ වස්තු සම්පත් පැහැර ගැනීමේ කැමැත්තක් නෑ. ඒ කියන්නෙ, අපමණ ලෝ සතුන්ගේ ධනයට ඔහුගෙන් හානියක් නෑ, ආරක්ෂා වෙනවා කියන එක. මුලින් සඳහන් කළා වගේ, අග සැප දෙන...හිත පිණිස සැප පිණිස පවතින, බුදුන් වහන්සේ විසින් වර්ණනා කරන ලද දෙවැනි මහා දානය තමයි ඒ. ඒ වගේම අන්සතු වස්තුව ආරක්ෂා කර දීම හේතුවෙන්, තමන්ගෙ වස්තුවටත් සොර සතුරු කරදර ඇතිවෙන්නෙ නෑ, ආරක්ෂා වෙනවා.

නමුත් යම් අවස්ථාවක අන්සතු දෙයක් අනවසරයෙන් ගන්න සිද්ධ වෙන්න පුළුවන්. යෙදිල තියෙන අවස්ථාවෙ හැටියට වෙන කරන්නම දෙයක් නැති නිසා, ඒ වගේ දෙයක් කළත් කරන්නෙ කැමැත්තෙන් නෙවෙයි. උදාහරණයක් විදිහට ඒ වගේ දහම් අවබෝධයක් ලබපු යම් දුක්පත් මනුස්සයෙකුට, වැසි අධික කාලයක කුලී වැඩක්වත් සොයාගන්න බැරි වෙන්න පුළුවන්. දූන් දරුවන් දෙතුන් වේලක් බඩ ගින්නෙ. ගෙදර ඉතුරු කරගත්තු මුදලකුත් නෑ. දරුවන්ගෙ දුක දැක දැක ඉන්න බැරි කම නිසා, අසල් වැසි ඉඩමක තියෙන අල, බතල, කුරුම්බා වගේ දෙයක්, අයිතිකරු-වන්ගෙ අනුදැනුමක් නැතිව කඩාගෙන ඇවිත් ගෙදර දරුවන්ට දෙන්න පුළුවන්. හැබැයි අන් සතු දේ ගත්තෙ කැමැත්තෙන් නෙවෙයි. මෙතනදි සොරකම් කිරීමේ චේතනාව දෘෂ්ටි විප්‍රයුක්තයි. ඒ කියන්නෙ සොරකම් කිරීම හොඳ දෙයක් කියල අදහස් ගත්තෙ නෑ. මෙතනදි පවක් සිද්ධ වෙනවා. හැබැයි ඒක සතර අපාගත වීමට තරම් බලවත් වෙන්නෙ නෑ. දුක් විපාක විඳින්න සිද්ධ වෙන්න පුළුවන්. හැබැයි ඒ වරදට, ප්‍රමාද දෝෂයට මහ පින් කුසල් කරල වන්දි ගෙවන්නත් පුළුවන්. "පටිවිරතෝ හෝති ..." කියන අවස්ථාව මේ විදිහට පැහැදිළි කර ගන්න ඕන. නමුත් කැමැත්තෙන් උපක්‍රම යොදල, ඒ කියන්නෙ දෘෂ්ටි සම්ප්‍රයුක්තව, හොරකම් කිරීම හොඳ දෙයක් කියල අන් සතු වස්තුව පැහැර ගැනීම සතර අපාගත වන අකුසලයක්. අං. නි. 5 වෙනි කාණ්ඩයේ 170 වෙනි පිටුවේ එන, <u>අපාය සංවත්තනික සූත්‍රයේ</u> ඒ බව සඳහන් වෙනවා.

3. ''කාමේසු මිච්ඡාචාරා පටිවිරතෝ හෝති...''.කාමයෙහි වැරදි ලෙස හැසිරීමට කැමැත්තෙන් නොබැඳෙමි. මහා පින් උපදවන, මහා කුසල් උපදවන... හය වෙනි කරුණ තමයි මේ. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන අරමුණු කෙරෙහි විද්‍යමාන වන මන වඩන ආස්වාද ස්වභාවයට ඇලුම් කිරීම තමයි කාමය කියන්නෙ. රහත් ඵලයට පත්වෙන කල් ආර්ය ශ්‍රාවකයාටත් කාමය තියෙනවා. නමුත් ඒවායින් මත් වෙන්නෙ නෑ. අනාගාමී ඵලයෙන් පස්සෙ ඒවාට මුල් තැන දෙන්නෙ නෑ. සමාජයේ ආචාර ධර්ම කියල කොටසක් තියෙනවා. එක් පුරුෂයෙක් හෝ එක් ස්ත්‍රියක්, ඒ ඒ සමාජවල පවතින චාරිත්‍ර අනුව පංච කාම ආස්වාද විඳින්න තමන්ට වෙන්කර ගත් තැනැත්තා හෝ තැනැත්තිය සමග එක්වෙලා ආස්වාද විඳීම තමයි කාමචාරයේ හැසිරීම කියන්නෙ. ඒක කාමචාරයක්. හැබැයි ලෝකයේ එක් එක් ප්‍රදේශවල සම්මත කරගත් චාරිත්‍ර විවිධයි. පුරුෂයන් 50%කට වැඩි සමාජයක, එක ස්ත්‍රියකට පුරුෂයන් කීප දෙනෙක් හෝ, ස්ත්‍රීන් 50%කට වැඩි සමාජයක, එක පුරුෂයෙකුට ස්ත්‍රීන් කීප දෙනෙක් හෝ සමග එක්ව වාසය කරන්න සිද්ධ වෙන්න පුළුවන්. එතකොට ඒ කාලයට ඒ ප්‍රදේශයේ ඒක චාරිත්‍රයක් වෙනවා. ඒ නිසා ඒ කාලයට ඒකත් ☞

කාමචාරයක්. ඒ ඒ චාරිත්‍ර කඩා බිඳ දැම්මොත් සම්මත කරගෙන ආපු චාරය දුරු කළ නිසා දුරාචාරයක යෙදුන කියනවා.

කාම සේවනය නොකළ යුතු හෙවත් කාම මිත්‍යාචාරය සිද්ධ වෙන අවස්ථා අටක් බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා.

1. මව මියයාමෙන් පියාගේ භාරයේ වැඩෙන දූරියක් පියාගේ අනුදැනුමකින් තොරව පියාට නොදන්වා භාර්‍යාව ලෙස සේවනය කිරීම, කරවීම, කිරීමට අනුබල දීම හෝ එසේ කිරීම යහපත් කියල වර්ණනා කිරීම සිදු නොකළ යුතු අකුසලයක්. කාම මිච්චාචාරයක්.

2. පියා මියයාමෙන් මවගේ භාරයේ වැඩෙන දූරියක් මවගේ අනුදැනුමෙන් තොරව...

3. මව, පියා මියයාමෙන් සහෝදරයා භාරයේ වැඩෙන දැරියක් සහෝදරයාගේ අනුදැනුමෙන් තොරව....

4. මව, පියා, සහෝදරයා මියයාමෙන් සහෝදරිය භාරයේ වැඩෙන දූරියක් සහෝදරියගේ අනුදැනුමෙන් තොරව...

5. ඥාතීන් භාරයේ වැඩෙන දූරියක් ඒ ඥාතීන්ගේ අනුදැනුමෙන් තොරව...

6. දාසියක් ලෙස කිසිවකු භාරයේ වැඩෙන දූරියක් ඒ අයිතිකරුගේ අනුදැනුමෙන් තොරව...

7. දඬුවම් ලබා වෙන් කර සිටින දූරියක්...

8. අසනීප, බෝවන රෝග ආදිය නිසා වෙන් කර සිටින දූරියක් භාර්‍යාව ලෙස සේවනය කිරීම, කරවීම, කිරීමට අනුබල දීම හෝ එසේ කිරීම යහපත් කියල වර්ණනා කිරීම සිදු නොකළ යුතු අකුසලයක්. කාම මිච්චාචාරයක්.

මේ කාරණා අට පිරිමි දරුවෙක් සම්බන්ධයෙනුත් අදාළයි. මේ අෂ්ඨ භාර්‍යා / පුරුෂ සේවනය හේතුවෙන් පවුල්වල සමගිය බිඳී යාම, රෝග පීඩාදිය වැලඳීම, පවතින යහපත් සමාජ සම්බන්ධතා බිඳී යාම, සමාජයට වැරදි පූර්වාදර්ශ දීම ආදී කරුණු සිද්ධවීම නිසා මෙලොව පිරිහීමටත්, නිරෝගී පැවැත්මක් නොලැබීමටත්, ඥාති හිත මිත්‍රාදීන්ගෙන් වෙන් වීමටත්, වෛර කරන්නන් ඇති වීම ආදී දුක් විපාක රාශියක් ඇති කිරීමටත් හේතු වෙනවා. මරණින් මතු නිරය, තිරිසන්, ප්‍රේත ආදී දුගතියක උපදින්න හේතු වෙනවා. මිනිසත්ව ඉපදුනත් තමන්ට වෛර කරන්නන් බහුල වෙනවා. ඥාති හිත මිත්‍රාදීන් නැතිව, රෝගීව, අසමගිකම් ඇති පවුල්වල උපදින්න සිද්ධ වෙනවා. විකෘති කාම සේවනයක් නිසා රූපය විකෘතිව උපදින්න පුළුවන්.

සද්ධර්ම ශ්‍රවණයෙන් හේතු ඵල දහම මනාව අවබෝධ කරගත් ආර්ය ශ්‍රාවකයා, මේ වගේ දුක් විපාක තියෙන, කිසිම හරයක් ගෙන දෙන්නෙ නැති කාම මිත්‍යාචාරයට කැමැත්තෙන් බැඳෙන්නෙ නෑ. ඒ හේතුවෙන් ඔහු අප්‍රමාණ සියලු ලෝ සතුන්ට සමගිය, සතුට, නොකිලිටි බව දානය කරන



කෙනෙක් වෙනවා. පළමුව සඳහන් කළා වගේ, අග සැප දෙන... හිත පිණිස, සැප පිණිස පවතින, බුදුන් වහන්සේ විසින් වර්ණනා කරන ලද තුන් වැනි මහා දානය තමයි ඒ.

4. ''මුසාවාදා පටිවිරතෝ හෝති...'' මුසාවාදයේ කැමැත්තෙන් බැඳෙන්නෙ නෑ. මහා පින් උපදවන, මහා කුසල් උපදවන... හත්වෙනි කාරණය තමයි ඒ. බුද්ධ කාලයේ දස වස්තුක මිත්‍යා දෘෂ්ටියත් ඇතුළත්ව 62ක් අවිද්‍යා වාද තිබුණ බව සඳහන් වෙනවා. දස වස්තුක මිත්‍යා දෘෂ්ටියේ ඉඳගෙන කරනවාද මුසාවාද වෙනවා. මුසාවාදයක් හෝ අවිද්‍යාවෙ වාදයක් හෝ ඇති වෙන්නෙ, ඇත හෝ නැත කියන අන්ත දෙකට යෑමෙන්. බුදුන්, දහම්, සඟුන් සරණ ගිය ආර්ය ශ්‍රාවකයා, සද්ධර්ම ශ්‍රවණයෙන් සත්‍යය දැන ගන්නවා. සත්‍යය දැන ගත්තම සත්‍යවාදී වෙනවා. එතැන මුසාවාදයක් හෝ අවිද්‍යාවේ වාදයක් නෑ. අන්ත දෙකටම නොගිහින්, මැදුම් පිළිවෙත ඇසුරු කරන ආර්ය ශ්‍රාවකයා, නිවනට එකම මගයි තියෙන්නෙ කියල දන්නවා. ඒ අරි අටඟි මග විතරයි. ඒ නිසා අනෙක් සියලු වාද මුසාවාද/අවිද්‍යාවේ වාද බවත් ඔහු දන්නවා. ඒ නිසා දැනගත්තා වූ සත්‍ය දහම ඇසුරු කරගෙනයි ඔහු කතා කරන්නෙ. අරි අටඟි මග, පටිච්ච සමුප්පාදය, සිවු අරිසස්, සත් තිස් බෝධි පාක්ෂික ධර්ම තමයි ඔහුට කතා කරන්න තියෙන්නෙ. වචනය සංවර කරගන්න උත්සාහය තියෙන ඔහු, අනුන් බිඳවන කේළාම්, සැඩ බවට පත් කරන පරුෂ වචන, කාලය කා දමන හරයක් නැති හිස් වචන කියන්නෙ නෑ. ලෝකයා අතර ව්‍යවහාරයෙදි, නොකළ දෙයක් කළා කියල හෝ නොදුටු දෙයක් දුටුවා කියල හෝ නොඇසූ දෙයක් ඇසුවා කියල හෝ කීම අද මුසාවාද හැටියට හඳුන්වනවා.

මග ඵල නොලැබූ එක්තරා භික්ෂුවක්, සාරිපුත්ත මහ රහතන් වහන්සේට අනෙක් භික්ෂූන් වහන්සේලා විසින් ගරු කිරීම් ආදිය කරනව දැකල නොපහන් සිතක් ඇතිකර ගත්තා. එක් වස් අවසානයකදී සාරිපුත්ත මහ රහතන් වහන්සේ, තමන් සමග විහාරයේ වස් සමාදන් වෙච්ච සියලුම භික්ෂූන් වහන්සේලාට බුදුන් වහන්සේ බැහැ දකින්න යන්න කියල කතා කළා. නම්ගොත් දන්නා අයගෙ නම්ගොත් කියල කතා කළා. කිසියම් හේතුවක් නිසා අර භික්ෂුවගේ නම කියවුනේ නෑ. මේ නිසා ඒ භික්ෂුව අමනාපය තවත් වැඩිකර ගත්තා. ගමන යන්න කලබලයෙන් සිවුරු පෙරවද්දි, සාරිපුත්ත මහ රහතන් වහන්සේ පෙරවන සිවුරේ කෙලවරක් ඒ භික්ෂුවගෙ ශරීරයේ යන්තමින් වැදුනා. බුදුන් වහන්සේ හමුවෙදි තොරතුරු විමසන කොට ඒ භික්ෂුව, සැරියුත් තෙරුන් වහන්සේ මට සිවුරු පොටෙන් පහර දුන්නා... කියල චෝදනා කළා. නොකළ දෙයක් කළා කියල සඳහන් වෙන මෙතැනදි සඳහන් වෙන්නෙ අභූතයෙන් චෝදනා කළා... කියල.

ඒ නිසා අද මුසාවාද කියල ව්‍යවහාර කරන කතා "අභූත" කියලයි නිවැරදි වෙන්න ඕන. දස වස්තුක

මිථ්‍යා දෘෂ්ටියේ ඉඳගෙන කරන මිථ්‍යා වාද තමයි මුසාවාද කියන්නෙ. අනාර්යයන් අතර ඉඳගෙන කටයුතු කරත්දි, අනාගාමී ඵලයට පත්වෙන කල් අභූත කථා කියන්න සිද්ධ වෙන්න පුළුවන්. අවිද්‍යාව තවමත් තියෙන නිසා සත්‍යය වසන් වීමෙන් සතර අපාගත නොවන මට්ටමේ අභූතයක් කියවෙන්න පුළුවන්. ඒවා වැටෙන්නෙ සම්පප්‍රලාපවලට. හැබැයි ආර්යයෙක් නම් ඒ කියන්නෙත් කැමැත්තෙන් බැඳිල නෙවෙයි. ඒ දේ හොඳයි කියල හිතාගෙන සම්පප්‍රලාප කියනව නෙවෙයි. ආර්ය ශ්‍රාවකයා සත් දහම ඇසුරෙන්, සියලු ලෝ සතුන්ට දහම් අනුදහම් පිළිවෙතට ගැලපෙන කතාවන් කරන නිසා, අප්‍රමාණ ලෝක සත්වයන්ට, තමන්ට හැකි පමණින් මහා ධර්ම දානයක් කරනවා. පළමුව සඳහන් කළා වගේ, අග සැප දෙන... හිත පිණිස, සැප පිණිස පවතින, බුදුන් වහන්සේ විසින් වර්ණනා කරන ලද සිවුවැනි මහා දානය තමයි මේ.

5. ''සුරාමේරය මජ්ජපමාදට්ඨානා පටිවිරතෝ හෝති...” මදයට, ප්‍රමාදයට හේතුවන යම් සුරාවක් ඇත්ද, යම් මේරයක් ඇත්ද, ඒවා කෙරෙහි කැමැත්තෙන් බැඳෙන්නෙ නෑ. මහා පින් උපදවන, මහා කුසල් උපදවන... අටවෙනි කරුණ තමයි ඒ. ''රා'' කියන්නෙ මත්වෙන බීම ජාතියක්. සුරා කියන්නෙ පානය කරන්නා හට සුවයක් ඇතිසේ දැනෙන මත්වෙන දේවල්. ''රා'' කියන වචනයේ, ''සැරි සරන'' කියන අදහසකුත් තියෙනවා. යම් සුරාවක් පානය කිරීම හේතුවෙන් දැනෙන සුවය තුළ සැරිසරන ස්වභාවයේ ආස්වාදයට (මිහිරි+යාව) ''මිහිරියාව'' කියන්න පුළුවන්. ඇසෙන් මන වඩන රූප, කනෙන් මන වඩන ශබ්ද, දිවෙන් මන වඩන රස, නාසයෙන් මන වඩන ගන්ධ, ශරීරයෙන් මන වඩන පහස ඇසුරු කරමින්, ඒවායේ තියෙන මන වඩන ස්වභාවයට ඇලුම් කරමින් විඳින ආස්වාද තමයි පංච සුරාව කියන්නෙ.

එකිනෙක සත්වයාට ප්‍රිය මනාප දේ විවිධයි. මනුස්සයාට විලවුන් සුවඳයි, මනාපයි, අසූචි දුගඳයි, අප්‍රියයි, මනාප නෑ. ඌරට අසූචි සුවඳයි, මනාපයි. එයින් තේරුම් ගන්න ඕන“මනාපය” තියෙන්නෙ බාහිර ද්‍රව්‍ය වස්තු තුළ නෙවෙයි, තමන්ගෙම මනස තුළ කියල. දහම් අවබෝධය තියෙන ආර්ය ශ්‍රාවකයා මේ බව තේරුම් අරගෙන, එතැන් පටන් රූපාදී අරමුණුවලට කැමැත්තෙන් බැඳිල මත් වෙන්නෙ නෑ. ලෝකයේ එකිනෙකාට ප්‍රිය මනාප හැම දේම පංච සුරාවට අයිති වෙනවා. කෙනෙක් ධනය අධිකව උපයගෙන, මම ධනවතෙක් කියන මිහිරියාවෙන් මත් වෙනවා. තව කෙනෙක් මම ලෝකෙන්ම වේගවත් ධාවකයා කියල මැනගෙන, සං+මාන දිනාගෙන මත් වෙනවා. මේ විදිහට සුරාවෙන් මේරයෙන් (මිහිරියාව) මත්වීම නිසා ''මදය'' ඇතිවෙනවා. යම් යම් දේවල්වලින් වටවෙලා තියෙන දෙයක මැද තමයි මදය තියෙන්නෙ. සුරාවෙත් මිහිරියාවෙත් මැද්දටම ගියාම, එතෙර තියෙන නිවනවත්, මෙතෙර තිබුන සතුට සාමයවත් පේන්නෙ නෑ. සුරාවෙන් මේරයෙන් මත්වීම නිසා ලෝකයාට අපමණ හිංසා පීඩා අපරාධ කරනවා.

තරුණකම, උගත්කම, රූමත්කම, විවිධ දක්ෂතා ඇති අය ඒ දක්ෂතා මුල් කරගෙන... ආදී වශයෙන් විවිධ කරුණු මුල් කරගෙන මදය ඇති කරගන්නවා. මදය නිසා මානයත්, මානය නිසා මදයත් ඇති වෙනවා. ඒ අවස්ථා දෙකම නිවන අවුරා දමන කෙලෙස්. සං+මාන කියන්නෙ මානය ගොඩනගන දෙයක්. මම අහවලාට වඩා උසස්, උගත්, දක්ෂයි, රූමත්... ආදී වශයෙන් ගත්තම උච්ච මානය ඇති වෙනවා. මම අහවලා තරමටම උසස්, උගත්, දක්ෂයි, රූමත් ... ආදී වශයෙන් ගත්තම සදිස මානය ඇති වෙනවා. මේ කාරණා දෙකේදීම තමන් කෙරෙහි යම් බලයක් ආරෝපණය කරගෙන, පහත් යැයි සම්මත, නොකටයුතු පව්කම් කරනවා. ඒ හේතුවෙන් නිවන ප්‍රමාද වෙනවා. ඒ වගේම මම අහවලාට වඩා පහත්, නූගත්, අදක්ෂයි, විරූපියි... ආදී වශයෙන් ගත්තම හීන මානය ඇති වෙනවා. "හීන මානය'' පසු බසින, විපිළිසර බව ඇති කරන, උට්ඨාන වීර්‍ය සිඳ දමන නිසා ඒකත් නිවන ප්‍රමාද කරනවා. සද්ධර්මය දන්න ආර්ය ශ්‍රාවකයා මදයට, ප්‍රමාදයට හේතුවන යම් සුරාවක්, යම් මිහිරියාවක් ඇත්ද ඒවායින් මත් වෙන්නෙ නෑ.

ආර්ය භාවයට පත් වෙන්න කලින් බොහෝ කාලයක් මත් පැනට පුරුදු වෙලා හිටපු සරකානි ශාක්‍යයාට, ආර්ය භාවයට පත් වෙච්ච විගසින් ඒක අත්හැර ගන්න පුළුවන් වුනේ නෑ. නමුත් ඔහු ඒක කළේ සුරාවෙන් මේරයෙන් මත් වෙලා නෙවෙයි. ඒ වගේ යම් යම් පුරුදු අත් හැර ගන්න අපහසු වෙන්න පුළුවන්. නමුත් ඒවා කරන්නෙ කාමයෙන් මත් වෙලා නෙවෙයි. මදයට ප්‍රමාදයට හේතුවන සුරාමේරයේ මත් වෙලා කැමැත්තෙන් නොබැඳෙන ආර්ය ශ්‍රාවකයා අතින්, සිහි මුලාවට පත් අයෙකුගෙන් සිද්ධ වෙන්න පුළුවන් බරපතල හිංගි හිංසාවන් සිද්ධ වෙන්නෙ නෑ. සාමය සමගිය රැකෙනවා. ධනය ආරක්ෂා වෙනවා. බිය දුරු කෙරෙනවා. ලෝකයාට දෙන මේ මහා දානය පළමුව සඳහන් කළා වගේ, අග සැප දෙන ... හිත පිණිස සැප පිණිස පවතින, බුදුන් වහන්සේ විසින් වර්ණනා කරන ලද පස්වැනි මහා දානය, මහා පින, මහා කුසලය වෙනවා.

මේ කරුණු අටෙන් පෙන්වා දෙන විදිහට ජීවත් වෙනව කියන්නෙ අරි අටඟි මග වඩනව කියන එක. බුදුන්, දහම්, සඟුන් සරණ ගිය අරි සව්වෙක් වෙන්නෙ සම්මා දිට්ඨියට පත් වීමෙන්. එතැන් පටන් ඔහු වඩන්නෙ අරි අටඟි මග. ඒ නිසා අරි අටඟි මගටත් අට මහ කුසල් කියනවා. බොදුනුවෙකුට ලැබෙන මහා ඉෂ්ඨය තමයි නිවන. මේ කරුණු අට ඉෂ්ඨය පිණිස හේතු වෙනව කියල බුද්ධ දේශනාවෙ සඳහන් වෙනවා. එයින් කියවෙන්නෙ මේ කරුණු අට අනුව ජීවිතය පවත්වා ගැනීමෙන් අරි අටඟි මග පූර්ණ කරගන්න පුළුවන් කියන එක. පාපයේකැමැත්තෙන් නොබැඳෙන්නෙ සම්මා දිට්ඨිය හා සම්මා සංකප්පය පිහිටුවාගෙන කටයුතු කරන නිසා. 1 වන 2 වන 3 වන මහා දාන තුනෙන් සම්මා කම්මන්ත මාර්ග හංගය වැඩෙනවා. 4 වන මහා දානයෙන් සම්මා වාචා මාර්ග හංගය වැඩෙනවා. මේ කරුණු අටම තුළ සම්මා ආජීව, සම්මා වායාම මාර්ග හංග වැඩෙනවා. පස්වෙනි මහා දානය වන සුරා මේරයේ නොබැඳීම නිසා නුමුලා බව ඇති වෙනවා. එයින් සම්මා සති මාර්ග [illegible] වෙනවා.

*විශාරද අභයරත්නාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු ඇසුරින් සකස් කළේ*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

**අභයරතනාලංකාරය - 57**

# ගිහි ගෙදර වින්ද දුක් ගිනි... (II)



- වහරක අභයරතනාලංකාර හිමි

පූගොඩ පේෂකර්ම සංස්ථාවෙ මම යන්ත්‍ර ක්‍රියාකරවන්නෙක් විදිහට වැඩ කරන කොට සමහර දවස්වලට ගෙදර ඉඳන් පා පැදියෙන් තමයි වැඩට ගියේ. කෙටි පාරවල්වලින් ගියාම හැතැප්ම 10 ක් (16 km) විතර දුර තියෙනවා. සතියෙ දවස්වල උදේ 8 - හවස 4 වෙනකල් වැඩ තිබුණත්, අතිකාල වැඩ උදේ 7 - හවස 3, හවස 3 - රෑ 11, රෑ 11 - උදේ 7 කියල කොටස් 3 කට බෙදල ඒ ඒ සේවකයින්ට බාර දීල තිබුනා. මෝටර්වලින් දුවන රෙදි වියන යන්ත්‍ර 12 ක් මට බලන්න තිබුණා. ඒ යන්ත්‍ර පණ ගන්වන්න ඕන. පුරුදු නැත්නම් ඒක හරියට කරන්න බෑ. නූලක් එහෙම කැඩිල ගියොත් යන්ත්‍ර නවතිනවා. එතකොට නැවතත් ඇදල පණ ගන්වන්න ඕන.

එක දවසක් අතිකාල යනකොට මට බඩගින්නෙ ඉන්න සිද්ධ වෙච්ච අවස්ථාවක් තාම මතකයි. ඒ දවස්වල මගේ අතේ යන්න එන්න සල්ලි තිබුණෙත් නෑ. ඉතින් මම ගෙදරදි කෑම එකක් උයාගෙන ඉටි උරයක බැඳගෙන පා පැදියේ හැඬලයේ එල්ල ගත්තා. බුලත් විටකුත් කලිසම් සාක්කුවේ දාගත්තා. හවස 3 - රෑ 11 අතර අතිකාල වැඩට යන නිසා, රෑට කන්න ගෙනියන බත් එක රෑ 7 ට විතර කාල රෑ 11 වෙනකල් වැඩ කරන්න ඕන. ඉතින් මගක් දුර යනකොට වැස්සකට අහුවෙලා සිලි බෑගය තෙමිල බත් එක බිමට වැටුණා. නමුත් කවරෙන් අහකට ගියේ නැති නිසා නැවතත් ගැට ගහල එල්ල ගත්තා. තවත් හැතැප්ම 2-3 ක් විතර යනකොට ඊළඟ හන්දියෙදිත් බත් එක බිමට වැටුණා. ඒත් මුකුත් වුනේ නෑ. මම ආයෙත් සැරයක් ගැට ගහල එල්ල ගත්තා. ඊළඟට පූගොඩ කඩමණ්ඩියේදි නැවතත් බත් එක කඩාගෙන වැටිල බිම හැම තැනම විසිරිලා ගියා. මම ඒ පැත්තවත් බැලුවෙ නැතුව එහෙම්ම යන්න ගියා. දැන් ඉතින් රෑට කන්න විදිහකුත් නෑ. සල්ලිත් නෑ. මම ඉතින් කමක් නෑ කියල වැඩ කරල වතුර ටිකක් බීල, ගෙනාපු බුලත් විටවත් කන්න කියල බලනකොට ඒකත් මග හැලිල. ඉතින් සද්ද නැතිව රෑ එළිවෙනකල් කාලය ගෙව්වා. පහුවදා නැවතත් පා පැදියෙන්ම බඩගින්නෙ ගෙදර ආවා.

ඒ විදිහට රෑ වැඩ ඉවර වුනාම ඒ ස්ථානයේම කොහේහරි තැනක වැටිල නිදාගෙන එළිවුනාම තමයි ගෙදර එන්නෙ. රෙදි නිෂ්පාදනය කරනකොට අහකට දාන නූල් කෑලි එකතු කරල ඒ ස්ථානයේ තිබිච්ච ආලින්දය වගේ කොටසක බිම පිහිදාල ඕක උඩ නිකම්ම බුදිය ගන්නවා. විශේෂයෙන් මුල් කාලෙ බෝඩිමක් ලැබෙනකල් ඒ විදිහට තමයි හිටියෙ. රෑ 11 - පාන්දර 3 අතර වැඩ කරන්න ලැබුණොත් යන්ත්‍ර බලා ගන්න ගමන් බොහෝකොටම කර්මස්ථාන වඩනවා. යන්ත්‍ර 6 න් 6 ට පේළි බෙදල තිබිච්ච නිසා 8 ඉලක්කමේ හැඩයට තමයි වටේට බලාගෙන යන්න තිබුණෙ. හරියට සක්මන් කරනව වගේ. නිකං ඉන්න බෑ කොච්චරවත් වටේට යන්න ඕන. යන්ත්‍ර ටික සුද්ද පවිත්‍ර කරල හරියට සකස් කරල තිව්වම, නූල් කැඩෙනවද පැටලෙනවද කියන එක තමයි බලන්න තියෙන්නෙ. ඉතින් පිටිපස්සෙන් තියෙන නූල් පන්දුව බලාගෙන දෙපැත්තෙන් නිෂ්පාදනය වෙන රෙද්දත් බලාගෙන මැදින් රවුමට 8 ඉලක්කමේ හැඩයට යන්න ඕන. රෑ එළිවෙනකල්ම ඕක තමයි කරන්න තියෙන්නෙ. මුලින් සුද්ද ඇතිව යන්ත්‍ර ටික හොඳට හදල සකස් කරල තියා ගත්තම එහෙම නූල් පැටලෙන්නෙ කැඩෙන්නෙ නැතිව යන්ත්‍ර ඔහේ දුවනවා. එතකොට කර්මස්ථාන වඩ වඩා වටේට යන්න ලේසියි. කලාතුරකින් තමයි යන්ත්‍රයක් නවතින්නෙ. සමහර වෙලාවට පැය ගණනාවක් යන්ත්‍ර නවතින්නෙ නැතිව දුවනවා. ඉතින් මම මොකද කරන්නෙ කර්මස්ථාන වඩන ගමන් හිමින් සීරුවෙ ඇවිද ඇවිද වටේට යනවා. යන්ත්‍රවලින් එන මහ සද්දෙ නිසා හයියෙන් කර්මස්ථාන වැඩුවත් කාටවත් ඇහෙන්නෙ නෑ.

**මේ දුර්ලභව ලැබිච්ච මනුස්ස අත්බවයේ ගතවන හැම තත්පරයක්ම වැදගත් නිසා, කාලය අපතෙ නොයවා ඒ විදිහට ලැබෙන හැම අවස්ථාවකින්ම ප්‍රයෝජන අරගෙන, මේ සසර ගමන කෙටි කර ගන්න තමයි ඒ විදිහට උත්සාහ කළේ. මේ ලැබිච්ච ජීවිතයේ තියෙන දුක් කරදරත් එක්ක, නිවී හැනහිල්ලෙ පැත්තකට වෙලා බණක් භාවනාවක් කරන්න අවස්ථාවක් ලැබෙන්නෙ නැති නිසා, ඒ විදිහට දුක් කරදර මැද්දෙම ලැබෙන හැම අවස්ථාවකින්ම මම ප්‍රයෝජන ගත්තා.**

ඒ කාලෙ ඇත්ත වශයෙන්ම මට විවාහයකට තදබල අවශ්‍යතාවයක් තිබුණෙ නෑ. විවාහයක් සිද්ධ වුනේ වැඩියෙන්ම අම්මගෙ උවමනාව උඩමයි. අම්මට සලකන්න, බලාකියා ගන්න කෙනෙක් නෑ කියලයි විවාහයකට පෙළඹෙව්වෙ. මම අම්මට ඒ කාලෙ ඉඳන්ම හොඳට සලකපු නිසා ඉදිරි බලාපොරොත්තුත් අනෙක් අය කෙරෙහි නෙවෙයි මා කෙරෙහිමයි තිබුණෙ.

ඉතින් ඒ විවාහයත් දෛවයෙන්ම සිද්ධ කරපු දෙයක්. ☞

පූගොඩ බෝඩිමේ අපි නැවතිලා හිටපු තැන එහා පැත්තෙ බතික් සහ මැහුම් පන්තියක් තිබුනා. ඒකට ඒ අය ගෑණු ළමයි විතරයි ගත්තෙ. ළමයි ගොඩක් ආවා. එතකොට මමයි, ඒ බෝඩිමේ හිටපු මගේ අනිත් යාළුවයි විවාහ වෙලා හිටියෙ නෑ. ඉතින් ඒ ළමයි කට්ටියම බලාගෙන හිටියෙ අපිව අල්ලගන්න. ඕකට මහා පොරයක් ඒ කාලෙ තිබුනා. ටික කලක් යනකොට ඒ අයත් අපි දෙන්නට විහිළු කොලොප්පම් කරන්න ගත්තා. හැබැයි කවදාවත් අපි අතින් දුශ්චරිතයක් වෙලා නෑ. අපි මෙහා පැත්තෙ බෝඩිම් කාමරේ, එහා පැත්තෙ කාමරේ තමයි පන්තිය තිබුණෙ. අපිව දැකල ටික දවසක් යනකොට ඒ අයටත් කිසි ගාණක් නෑ. සහෝදර සහෝදරියො වගේ හොඳට කතාබහ කරල කටයුතු කළා. ඒ විස්වාසය කොච්චරද කියනවනම්, ඒ අය වැඩ ඉවර වෙලා ඇඳුම් මාරු කරන්න එන්නෙත් අපි ඉන්න කාමරයට. ඒ පන්ති කාමරයයි, අපේ කාමරයයි, කඩ කාමරයයි තිබුණෙ. ඉස්සරහ ලෑලිවලින් වහල එක ලෑල්ලක් විතරක් අපිට යන්න එන්න ඇරල තිබුණා. දුශ්චරිත කරනවනම් ඒකට ඕන තරම් අවස්ථාව තිබුණත් අපි දෙන්නම කවදාවත් එහෙම නරක වැඩ කළේ නෑ. නරක වැඩ නොකළට අපි බොහොම චිත්ත ප්‍රසාදයෙන් හිටියෙ. ඉතිං අපි රෑ වැඩ කරල ඇවිත් නිදාගෙන ඉන්න අතරෙ, මේ ළමයි උදේ අපේ කාමරේට ඇවිත් ඇඳුම් මාරු කරගෙන අපේ පනාවෙන් ඔළුවත් පීරගෙන, අපේ සැන්ට් පවුඩරුත් දාගෙන යනවා. එක ගෙදර ඉන්න සහෝදරියො වගේ තමයි ආවෙ ගියේ. ඔහොම කාලයක් ගියා.

ඉතින් විවාහ වෙන්න ඕන තරම් අය හිටියත් අහවලා සුදුසුයි කියල කාටවත් තීරණයක් දුන්නෙ නෑ. අපිත් එක්ක යාළුවෙන්න බලාගෙන ඕන තරම් ගෑණු ළමයි හිටියා. මමත් ඉතින් වටින් ගොඩින් හොයල බලනකොට ඒ අයගෙන් සමහරක් අයගෙ චරිත ඒ තරම් හොඳ නෑ කියල දැන ගත්තා. ඒ කියන්නෙ ඒ අය අතරෙ හිටපු අයගෙන්ම අහල දැනගත්ත මිසක් වෙන ක්‍රමයකට දැන ගත්ත නෙවෙයි. ඒ නිසා ඒව ඇත්තද බොරුද කියන්න මම දන්නෙ නෑ. ඒ නිසා ඒ අයත් එක්ක තරහ නොවී හිමින් සීරුවේ බලාපොරොත්තු තියන්නෙ නැතුව හිටියා. අන්තිමට චරිතෙ හොඳයි කියල හිතෙන අය අතරින් කෙනෙක් හිටියා.

දවසක් ඡන්ද කාලෙක රෑ ඒ පැත්තෙ විසාල දේශපාලන රැස්වීමක් තිබුණා. මාත් එක්ක හිටපු අනිත් යාළුවා ඒ පක්ෂයේ පාක්ෂිකයෙක් නිසා ඒ කටයුතුවලට කෙලින්ම සම්බන්ධ වුණා. මට ඒ කාලෙ ඉඳන්ම පැත්තක්/පක්ෂයක් තිබුණෙ නෑ. **හුඟක් උදවිය තමන් අහවල් පාක්ෂිකයෙක්, කැපුවත් ඒ පාටයි... ආදී වශයෙන් පක්ෂයක් බදාගෙන ඉන්න පුරුදු වෙලා හිටියත් ඒක කිසිම හරයක් නැති, දහමටත් එකඟ නැති දෙයක් හැටියට තමයි මට එදා ඉඳන්ම වැටහුණේ.** මිනිස්සු පක්ෂයක් කියල නාම පුවරුවටයි, පාටටයි, සංකේතවලටයි ගහමරා ගන්නවා, බැන ගන්නවා, දේපල විනාස කරගන්නවා. නමුත් පිටින් බැලුවම මේ අය අතර කිසිම වෙනසක් නෑ. අන්තිමට මැරිල ගියාට පස්සෙ ඔය අල්ල ගත්ත එකක්වත් නෑ. ඒකෙන්



විවාහ වූ දා

ලැබිච්ච දේකුත් නෑ.

ඒක පුද්ගලයින්ගෙ තිබෙන්නා වූ මධ්‍යස්ථභාවයක් නැති පක්ෂග්‍රාහීකමක්, එක්තරා දෘෂ්ටියක්. බුද්ධ දේශනාව අනුව බැලුවත්, ඉධං සච්චාභි නිවේස කාය ග්‍රන්ථ කියන, ඒකම ඇත්තයි අනෙක්වා සේරම බොරු කියන දෘෂ්ටියට තමයි වැටෙන්නෙ. ඉධ මේව සච්චං මෝඝ මඤ්ඤං කියන දේශනාවටත් අනුව තමන් ගන්න නිගමනය හරි, අනෙක් සේරම වැරදියි කියන තැන තමයි ඒ වගේ අය ඉන්නෙ. ඒ අය කළු ගලට මැණික් ගලක් කියල කිව්වොත් ඒ අදහසමයි ඇත්ත කියල ගන්නෙ. ඒක නැවත වෙනස් කරන්නෙ නෑ. දේශපාලනයෙන් අන්ධ වෙලා ඉන්න අයටත් ඒකමයි වෙලා තියෙන්නෙ. අන්න ඒ වගේ අය තමයි බොහෝ කොටම මේ පක්ෂවලට බැඳිල ඉන්නෙ.

අද වුනත් ඔය වගේ දේශපාලන පක්ෂවලට පක්ෂග්‍රාහී වෙලා ඉන්න අය දිහා බැලුවොත්, ඒ අය කරන සියල්ල හරි අනෙක් අය කරන සියල්ල වැරදියි කියන ඔය වගේ අදහසක තමයි ඉන්නෙ. අනෙක් අය හොඳක් කළත් ඒ අයට ඒක පේන්නෙ වැරැද්දක් විදිහට. හොඳක් කළත් හොඳයි කියල කියන්නෙ නෑ. ඒ වගේම තමන්ගෙ පක්ෂයෙන් කරන වැරදි පේන්නෙත් නෑ. හැම පක්ෂයකම ඉන්න පාක්ෂිකයො කියන අය දිහා බැලුවොත් ඔය වගේ තත්වයක් තමයි තියෙන්නෙ. ඒක ඉතින් සම්පූර්ණයෙන්ම දෘෂ්ටියක්. ඒ වගේ අයට ඇත්තක් හොයා ගන්නත් අමාරුයි. හැම තැනදිම අනෙක් අයත් එක්ක ගැටිල දැඩි බවට පත්වෙලා මුලාවක ඉන්නෙ. එක්කො ඒ අය ඒක ලාභ කීර්ති ප්‍රසංසා බලාපොරොත්තුවෙන් කරන්නෙ. එහෙම නැත්නම් මුලා දෘෂ්ටියක ඉඳගෙන කරන්නෙ. නමුත් දහමට අනුව හැසිරෙනව නම් ඒ වගේ අදහස් අත්හරින්න ඕන. ඒ නිසා **යම්කිසි යහපත් ප්‍රතිපත්ති තියේනම්, යහපත් වැඩක් කරනව නම්, ඒක හොඳ නිසා කවුරු කළත් ඒකට සහයෝගය දක්වනව මිසක් හංවඩු ගහගෙන පක්ෂයක් බදාගෙන ඉඳීම ලෞකික දහමට අනුව බැලුවත් අන්ධබාවයක් මිසක් වෙන දෙයක් නෑ කියලයි** මම දැක්කෙ. ඒ නිසා මම කවුරු ආවත් හැම එකකටම පක්ෂ භේදයකින් තොරව ඇලෙන්නෙ බැඳෙන්නෙ නැතිව උදව් කළා.

ඉතින් ඒ රැස්වීමට අවශ්‍ය ආලෝක සැරසිලි, විදුලි රැහැන් අදින වගේ වැඩ මටත් හොඳට කරන්න පුළුවන් නිසා මමත් ඒවට උදව් කළා. අර මැහුම් පන්තියට එන ගෑණු ළමයි ඔක්කොමත් මේ රැස්වීමට සහභාගි වුණා. රෑ වෙලා ඒ අයට ඉන්න තැනකුත් නැති නිසා ඒ අය අතරින් තුන් දෙනෙක් අන්තිමට අපේ තිබිච්ච හිතවත්කමට අපි ඉන්න කාමරයට ආවා. ඉතින් අපි නිකං ඒ අයත් එක්ක කතාබහ කළා විතරයි. අම්ම තාත්ත කොහොමද, මොනවද කරන්නෙ, සහෝදර සහෝදරියො කොහොමද... ඔය වගේ දේවල් තමයි කතා කළේ. අන්තිමට කුකුල අඬලන සද්දෙ ඇහිල වෙලාව බලනකොට පාන්දර හතරයි. රැස්වීම ඉවර වෙලා මේ අය ආගිය අතක් නෑ කියල එතන තිබිච්ච ශබ්ද

විකාශන යන්ත්‍රයෙන් දනුම් දීලත් තිබුණා. බලනකොට රූස්වීමෙ හිටපු කවුරුවත් නෑ ඔක්කොම යන්න ගිහින්. බැරිවෙලා හරි එදා අපිව කොටු කළානම් ලොකු අමාරුවක වැටෙනවා. රෑ එළිවෙනකල් ගෑණු ළමයි ටිකක් කොල්ලො දෙන්නෙක් එක්ක ඉඳල අහු වුනාට පස්සෙ ඒ කාලෙ හැටියට බේරිල්ලක් නෑ. ඒත් අපි නිකං කතා කර කර විතරයි හිටියෙ. කිසිම දුරාචාරයක් අපි අතින් සිද්ධ වුනේ නෑ. නමුත් ඔය කතාව කිව්වට ඒ කාලෙ අපේ වයසෙ හැටියට, තිබ්බච පසුතලයේ හැටියට ඔහොම හිටිය කියල කවුරුවත් විස්වාස කරන එකක් නෑ. නමුත් ඇත්ත තත්වය ඒකයි.

හැබැයි අන්තිමට මම එකක් කිව්වා. මේ සම්බන්ධය හැබෑනම් ඔයගොල්ලො ගෙදරට අවංකව කියන්න, හොරෙන් යාළු වෙන්න හොඳ නෑ, සමාජයේ සම්මතයක් තියේ නම් ඒ සම්මතයෙ විදිහට කටයුතු කෙරෙන්න ඕන, එතකල් නිකමටවත් ඇඟටවත් අත තියන්නෙ නෑ, මේ සුහද කතාබහක් විතරයි කියල මම කෙලින්ම අදහස කිව්වා. මම එහෙම කිව්ව නිසා ඒ අයත් ගෙදරට කියල තිබුනා, පූගොඩ පේෂකර්මෙ වැඩ කරන කළු කොල්ලෙක් මට යාළු වෙන්න කතා කළා කියල. එකපාරටම කියන්නෙ නැතිව එහෙම තමයි කියල තිබුණෙ. කළු වුනාට මොකද බං ගුණ යහපත්නම් බල බලා ඉන්න ඕන නෑ එක්කගෙන වරෙන් කියල ඒ අයගෙ දෙමව්පියන් කියල තිබුණා.

ඊට පස්සෙ ඉතින් මමයි යාළුවයි දෙන්න දවසක් ඒ අයගෙ ගෙදරට බලන්න ගියා. අපිට දුක්පත් පොහොසත් භේදයක් නෑ, අවශ්‍ය වෙන්නෙ ගුණ ධර්මයි කියන වචනෙ පිහිටල තමයි මම කතා කළේ. හැබැයි මම ඒ අයගෙන් ඉස්සෙල්ලම ඉල්ලා හිටපු කාරණයක් තිබුණා. මට වෙන මුකුත් දෑවැද්දක් එපා, මට කරන එකම උදව්ව මේකයි. අපේ අම්ම සැරයි, ටිකක් නෙවෙයි බොහොම සැරයි, ලේසියෙන් නම් කෙනෙකුට ඉන්න බෑ. ඒක තේරෙනව නම්, අම්ම මොනව කිව්වත් මට කරන ගෞරවය තමයි ඒ සියල්ලම අහගෙන, හිත රිද්දවන්නෙ නැතුව ඇප උපස්ථාන කරගෙන ඉඳීම. මෙන්න මේ ටික කරගෙන ඉන්න පුළුවන් නම් මම කැමතියි කිව්වා. හැබැයි ඒකට හරි උත්තරයක් දුන්නෙ නෑ. හා මම එහෙමම කරන්නම් කිව්වෙත් නෑ. පස්සෙ ඒ ළමයගෙ අම්ම කිව්වා, මොනවද පුතේ ඉතින් කන්න බොන්න ටිකක් හදල දෙන එක මිසක් උස්සගෙන වඩාගෙන ඉන්නෙයි, නැති බැරි වෙලාවට සාත්තුවක් කරන එකනෙ තියෙන්නෙ කියල. මම කිව්ව ඉතින් ඒ ටික තමයි තියෙන්නෙ, ඒත් සැර කෙනා එක්ක ඉන්න එක තමයි ටිකක් අමාරු කියල. අන්තිමට ඒක එහෙම්ම අනුමත වුනා.

ඊට පස්සෙ තමයි සම්බන්ධය පටන් ගත්තෙ. හැබැයි පටන් ගත්ත තැන් පටන් ඒ අය කතා කරන වචනවලින් මට තේරුණා මේකනම් සාර්ථක වෙන්නෙ නෑ, වැඩේනම් වරදිනව කියල. මොකද මම බාහිර කෙනෙක් එක්ක කතා කළොත් ඒ අය බුම්මගෙන ඉන්නවා. විශේෂයෙන් මම කාන්තා පක්ෂයේ කෙනෙක් එක්ක කතා කළොත් ඒ අයට ඒක ලොකු අසහනයක්. වෙනත් කාන්තාවො ඇහැට පේන්න බෑ. හිනා වුනත් වැරදියි. එහෙම කෙනෙක් එක්ක කතා කරනව දැක්කොත් දවස් ගානක් බුම්මගෙන ඉන්නවා. වෙන මොනවත් නරක හැඟීමකට නෙවෙයි, යහපතක් වෙන දෙයක් ගැන කතා කළත් එහෙමයි. නමුත් මම මේ ඒ ගැන ඒ අයට දොස් කියනව නෙවෙයි. ඒක ඒ අයගෙ ගති ලක්ෂණයක්. ඒ ගති ලක්ෂණයේ ස්වභාවය කිව්ව මිසක් පහර ගහන්න කිව්ව නෙවෙයි.

ඉතින් මුල් කාලෙම ඔහොම දෙයක් මට තේරුම් ගියා. මම දැන ගත්තා මගේ සම්පූර්ණ ස්වභාවයට, බාහිර නිදහසට ලොකු පහරක් නම් වදිනව, මම ලොකු උගුලක හිරවුනා කියල. නමුත් ඒවෙනකොට විවාහ වෙන්න වචනෙ දීල තිබුන නිසා, නම් ගම් දීල තිබුණ නිසා කරන්න දේකුත් නෑ. මොකද ලැජ්ජාව කියල දෙයක් තියෙනවා. ඒ කියන්නෙ ලෝකයේ කාටහරි සම්මත විදිහට ස්ථිරව පොරොන්දුවක් වුනා නම් ඒක වෙනස් කරන එක හොඳ නෑ. ඒ නිසා ඉතින් ඕන දෙයක් වෙච්චාවෙ කියල මම නිහඬ වුනා. වෙන කෙනෙක් නම් ඉතින් අත්හැරල දාල නිකං ඉන්නවා. හැබැයි විවාහ වෙන්න ඉස්සෙල්ල මම කිව්වා, මම මේ විවාහ වුනාට හැමදාම මේ විදිහට ඉන්නෙ නෑ, මේක මහ කරදරයක් බව පේනවා මම කවද හරි මහණ වෙනව කියල. එතකොට එයත් කිව්වා මටත් ප්‍රශ්නයක් නෑ, මමත් කවදහරි සිල් මෑණි කෙනෙක් වෙනව කියල. ඉතින් එවෙලෙ මට හරි සන්තෝසයක් ඇති වුනා.

ඔය විදිහට ගිහින් තමයි විවාහ කටයුතු චාරිත්‍රානුකූලව සිද්ධ වුනේ. ඒ කටයුතුවලට වියදම් කරන්න අවශ්‍ය මුදල් මා ළඟ තිබුණා. ඕන නම් බැංකුවලින් ණය ගන්නත් පුළුවන්කම තිබුණා. හය මාසයක පඩිය එකතු කරල ඒ අවශ්‍ය මුදල් ටික හදාගත්තා. විවාහ කටයුතුවලට ගන්න කියල ඒ මුදලුත් මම අම්මට ගෙනත් දුන්නා. ඒව මම පරිහරණය කරන්න ගියේ නෑ. හැබැයි මගුල කළාට පස්සෙ ගෙදර අයගෙ ගති ලක්ෂණ වෙනස් වුනා. මුදලක් ලැබුණොත් අනෙක් අය ඒකෙනුත් කීයක් හරි ගන්න තමයි බලාපොරොත්තු වුනේ. විශේෂයෙන් අපේ අම්ම, මම මගුලට දීපු ඒ මුදලත් ඉතිරි කරන්නයි බැලුවෙ. කොහොම හරි මගුලෙ කටයුතු උත්සවාකාරයෙන් හොඳට කෙරුණා. නමුත් අන්තිමට බලනකොට මට අතේ සතයක්වත් නෑ, ඉවරෙටම ඉවරයි. මොකද ඒ සතයක්වත් මම තියා ගත්තෙ නෑ. ඔක්කොම අම්මට දුන්නා. කොහොම හරි මංගල රථයට දෙන්නවත් එවෙලෙ සල්ලි තිබුනෙ නෑ. මංගල රථය අයිති කෙනා මගේ හොඳ යාළුවෙක් නිසා මම කිව්වා සතියක් ඇතුළත ගෙවන්නම් කියල. ආ ඒකට කමක් නෑ කිව්වා. දැන් ඉතින් දින වකවානු කියල දෙන්න පොරොන්දු වුනා නම් මම ඒක දෙන්නම ඕන. මට කාටවත් ණය වෙලා ඉන්න බෑ. කවදාවත් මගේ බොරු වංචා නෑ. ඒක එහෙම්මයි. මොකද ණය නැති බව, වරදක් නැති බව කියන බුද්ධ දේශනාව එදා ඉඳන්ම මගේ හිතට කා වැදිල තිබුණෙ.

ඉතින් මේ ණය කොහොම හරි පියවන්න ඕන නිසා මම අම්මගෙන් ඇහුවා, සල්ලි ඉතිරි වුනේ නැත්ද කියල. ඕක ඇහුව කියල අම්මට කේන්ති ගිහින් මට හොඳටම දොස් කිව්වා. උඹට ගණන් පෙන්නන්න ඕනද? මම ගත්ත කියල හිතාගෙනද උඹ අහන්නෙ?... ඔය වගේ දොස් කිව්ව මිසක් අහන එකට උත්තර දුන්නෙ නෑ. ඉතින් මම කිව්වා, ගණන් ඇහුව නෙවෙයි මංගල රථයට ගෙවන්න ඕන නිසයි ඉතිරි තියෙනවද ඇහුවෙ කියල. ඒකට උත්තරයක් දුන්නෙත් නෑ. දැන් මම කල්පනා කරනවා. හරි වැඩේ මට වුනේ? මම මේ ණයකට හිර වුනාමයි. මීට පෙර කවදාවත් එහෙම ණය වෙලා නෑ. දැන් මට සල්ලි ගෙවන්න විදිහක් නෑ. කරන්න දේකුත් නෑ. විවාහයට පස්සෙ තමයි අන්තිමට මහ පෙරළියක් සිද්ධ වුනේ. ඒ කියන්නෙ මම

නොහිතපු අත්දැකීම් එන්න පටන් ගත්තා. ඒවා ඔක්කොම දුක් කරදරම තමයි. ඔය අස්සෙ කාගෙත් අඳෝනා පටන් ගත්තා. ඔතැනියි, අරකයි මේකයි, අසනීපකාරියක්... ආදී වශයෙන් රටේ නැති දේවල් කියල මනමාලිගෙ නොයෙක් අඩුපාඩු කියන්න පටන් ගත්තා.

දැන් ඉතින් ප්‍රශ්නවල කෙලවරක් නෑ. නමුත් මම කැමති වුනේ නෑ කවදාවත් එහෙම අසමගියෙන් ජීවත් වෙන්න. දෙන්නෙක් බුම්මගෙන ඉන්නවනම් ඒක මට ඉවසන්නම බැරි දෙයක්. නොකා නොබී ඉන්න පුළුවන් වුනත් ඉවසන්නම බැරි මේ වගේ දේවල්. නමුත් ඒ වගේ දේවල්වලටමයි මට එදා ඉඳන්ම මුහුණ දෙන්න සිද්ධ වුනේ. ඒකෙන් මම මානසිකව සැහෙන දුක් වින්දා. අපි ඔක්කොම හිටියෙ අපේ පරණ මහ ගෙදර. අයියත් විවාහ වෙලා ඒ ගෙදරමයි හිටියෙ. නංගිත් කාලයක් එහේ හිටියා. ඉතින් කෙලවරක් නැති ප්‍රශ්න එන්න පටන් ගත්තා. තැටියක රත්වෙනව වගේ තමයි මම හිටියෙ. පවුලෙ සහෝදර සහෝදරියොත් මගේ පිට බොරු චෝදනා දාල දොස් කියන්න පටන් ගත්තා. අම්මත් එක්කත් මා ගැන දොස් කියල අවුළුවන්න පටන් ගත්තා. අම්මත් ඒවා විශ්වාස කළා. ඔය හැම පැත්තෙන්ම මට කරදර එන්න පටන් ගත්තා.

මම කල්පනා කළා දැන් මම මොකද කරන්නෙ කියල. අතේ සල්ලිත් නෑ, කොහොම හරි වෙච්ච ණය ගෙවන්නත් ඕන. ණය ගෙවන්න තමයි පළවෙනි තැන දුන්නෙ. ණය වෙලා ඉන්න කොහොමත් කැමති නෑ. බලනකොට බැංකු පොතේ තවත් සුළු මුදලක් ඉතිරි වෙලා තිබුණා. හැබැයි ඒකත් ණය පියවන්න මදි. මොකද රුපියල් 200/- ක් වගේ ගාණක් මංගල රථයට දෙන්න තිබුනා. නමුත් පොතේ තිබුණෙ රුපියල් එකසිය ගාණයි. ගිණුම වහල දාල ඒ මුදලින් ටිකක් පියවල ඉතිරිය පඩි ගත්තම පියවනව කියල තමයි හිතාගත්තෙ. පූගොඩ මහජන බැංකුවේ තමයි ගිණුම තිබුණෙ. ගිහින් බලනකොට මාස ගණනකින් පොළී පියවල තිබුණෙ නෑ. පොළී හදන්න පොත දීල බලන කොට රුපියල් දෙසිය ගණනක් එකතු වෙලා. ඒක අර ණය මුදල ගෙවන්න හොඳටම ඇති. යන්තම් ගිණුම වහන්නෙ නැතිව ඒ මුදල් ටික අරගෙන මංගල රථයට තිබ්බ්ච ණය ගෙව්වා. ඒ ගැන ලොකු සහනයක් එදා හිතට ආවා.

සටහන:
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නිමල දම් හඬින් යළි ඒකාලෝක වන අනුරපුරය

අනුරාධපුර ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ ඇතුළු පූජනීය අටමස්ථානයන්ට කිලෝ මීටර් 11 ක් පමණ දුරින්, තන්තිරිමලේ පාරේ තුන්වන කණුව අසල බාලදක්ෂ මාවතේ, පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන්ගේ ආශිර්වාද සහිතව "අරිය චින්තාශ්‍රම බොදු සෙනසුන" නමින් විහාරස්ථානයක් ඉදිවෙමින් පවතී.

අක්කර 5 ක පමණ ප්‍රදේශයක් පුරා විහිදී ඇති මෙම පුණ්‍ය භූමියෙන් කොටසක් බණ භාවනා කරන භික්ෂූන් වහන්සේලා උදෙසා ඉදි කෙරෙන භාවනා කුටි පෙළක්ද, උතුරු හා උතුරු මැද පළාත් සාධු ජනයාගේ දහම් පිපාසය නිවාලීම සඳහා ඉදිවෙන වර්ග අඩි 7000 ක පමණ ධර්ම ශාලා සංකීර්ණයක්ද පළමු අදියර යටතේ නිම කිරීමට බලාපොරොත්තු වන අතර දෙවන අදියරේදී නන් දෙසින් පැමිණෙන පින්වතුන්ගේ නවාතැන් පහසුකම් සලසන විශ්‍රාම ශාලා සංකීර්ණයක්ද ඉදිකිරීමට අදහස් කර ඇත.

සැඟව ගිය නිමල දහම් හඬ යළි ඇසීමට සැලැස්වීම මෙම සද්කාර්යේ මූලික අරමුණ වන අතර, ඒ සඳහා මූලික පියවර තබමින් ධර්ම ශාලා සංකීර්ණයට මුල්ගල තැබීමත්, අරි සිතුම් දම් මැදුර (දහම් පොත්හල) විවෘත කිරීමත් පසුගියදා උත්සවාකාරයෙන් සිදුකරනු ලැබුවා.

පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන්ගේ අති දුලභ සාසන පැතුමට රුකුලක් වෙමින් ගොඩනැගෙන්නා වූ මෙම සාසන භූමිය සඳහා පින්වත් ඔබටත් දායක වීමේ අවස්ථාව උදාවී ඇති අතර ඒ සඳහා පහත දුරකථන අංකයන් ඔස්සේ සම්බන්ධ විය හැක.

පූජ්‍ය කළුකැලේ ධම්මසුගත හිමි - 0766442125
අනිල් කාරියවසම් මහතා - 0777741478

# ස්වයංජාත ඇල් වගාවට වටිනා උපදෙස් මාලාවක්...

**හැඳින්වීම සහ ඉතිහාසය**

ලෝකෝප්පත්තිය සිදුවූ ආකාරය බුදු දහමේ පැහැදිලි කරන අග්ගඤ්ඤ සූත්‍ර දේශනාවට අනුව, මිහිතලය මත මුලින්ම පහල වූ බ්‍රහ්ම කල්පික ආදී මනුස්සයින් දස අකුසලයෙන් තොරව අලෝභ, අද්වේශ, අමෝහ ගුණයෙන් යුක්ත වුණා. ඒ හේතුවෙන් උදාවූ පුණ්‍ය වාසනාව නිසා අවශ්‍ය ආහාර ලෝකයේ ස්වයංජාතව පහළ වුණා. භූමි පටක, හතු විශේෂය හා බදාලතා වැල්වලට පසුව පහළ වූ ආහාරය තමයි ස්වයංජාත ඇල්. අංග සම්පූර්ණ පෝෂණයෙන් යුත් නියම මනුස්ස ආහාරය තමයි ඒ. මේ හා සමාන පෝෂණ ගුණයෙන් යුත් වෙනත් ආහාරයක් දැනට මිහිපිට නෑ. ලෝකයේ ප්‍රථම සහ උසස්ම ධාන්‍ය වර්ගය වන මේ ඇල්''බුද්ධ බෝගය''ලෙසත් හැඳින්වෙනවා.

මීට පෙර හෙළ බොදු පියුම සඟරාවේ 32 හා 51 කලාප මගිනුත් ස්වයංජාත ඇල් පිළිබඳ දීර්ඝ වශයෙන් විස්තර කරල තියෙනවා. ඒ වගේම පැරැන්නන් දහමට අනුව සාර්ථකව ගොවිතැන් බත් කළ ආකාරය 18 වන කලාපයේ සඳහන් කරල තියෙනවා. අන්තර්ජාලයේ ''www.helabodhupiyuma.net'' වෙත පිවිසීමෙනුත් මේ සඟරා කලාප පරිශීලනය කරන්න පුළුවන්. මේ වෙනකොට නැවත පහළවෙලා තියෙන ස්වයංජාත ඇල් ප්‍රභේදය රටේ විවිධ ප්‍රදේශ පුරා වගා කරපු ගොවි මහත්වරුන්ගේ ප්‍රායෝගික අත්දැකීම් අනුව, සාර්ථකව වගා කරන හැටි අනෙක් පිරිසටත් හඳුන්වාදීම තමයි මේ ලිපියෙන් සිද්ධ කරන්නෙ. ඊට අමතරව කලින් සඳහන් කරපු සමහර කාරණාත් නැවත මතක් කිරීම සඳහා කෙටියෙන් සඳහන් කරල තියෙනවා.

ජලය බැඳීමකින් තොරව, කුඹුරු කෙටීමකින් තොරව, සී සෑමකින් තොරව, ගොඩ වැවෙන, කුඩු නැති, දහයියා නැති, සුවඳවත් වූ හාල්ම ඵල විදිහට ලැබෙන ධාන්‍ය විශේෂයක් ලෙස මුල් කාලයේ තිබ්ච්ච ස්වයංජාත ඇල් ගැන අග්ගඤ්ඤ සූත්‍ර දේශනාවේ දැක්වෙනවා. උතුරුකුරු දිවයිනට අයත් එක්තරා යක්ෂ විමානයක වාසය කරන පුණ්‍යවන්ත යක්ෂ පිරිසකගේ ආහාරයත් මේ ඇල් බව ආටානාටිය



පොළොව දෙසට නැමුණු ස්වයංජාත ඇල් කරල්

සූත්‍රයේ සඳහන් වෙනවා.

අද දවසේ බොහෝ ප්‍රධාන දේවාලවල විශේෂ දවස්වල දෙවියන්ට කැප කරල පසුව රැස් වෙලා ඉන්න පිරිස අතර බෙදා දෙන, ලුනු දාන්නෙ නැතිව හකුරු, මුං ඇට, මුද්දරප්පලම්, කජු මද, සූකිරි ආදිය යොදා රසවත්ව සුවඳවත්ව පිළියෙල කරගන්නා''මුරුතැන් බත''කියල දෙයක් තියෙනවා. ඒකට ඒ නම යෙදුනෙ මුල් කාලයේ තිබූ බත (මුල්+තැන් බත) කියන අරුත් ඇතිව. මුරුතැන් බතටත් වඩා ප්‍රණීත රසයෙන් යුත් මුල් කාලයේ තිබ්ච්ච''ස්වයංජාත ඇල්'' ආහාරයට ගැනීම සඳහා ව්‍යංජන අවශ්‍ය වුනේ නෑ. සියළු ආකාර පෝෂණයෙන් පරිපූර්ණ සමබල ආහාරයක්. මුල් කාලයේ තිබ්ච්ච ස්වයංජාත ඇල් ආහාරයට ගැනීමෙන් පසු මළ මූත්‍ර වශයෙන් බැහැර කරන්න අපද්‍රව්‍ය කිසිවක් ඉතිරි වුනෙත් නෑ. ඉතාම මෘදු ආහාරයක් නිසා ළදරුවන්ට වගේම ජීර්ණ අපහසුතා තියෙන දුර්වල රෝගීන්ටත් විශේෂයෙන් ගුණදායකයි.

පොතු නැතිව හාල් විතරක් ඵලය වශයෙන් මුල් කාලයේ ලැබුණත්, පොදුවේ භුක්ති විඳින්න තිබ්ච්ච දේ තණ්හාවෙන් රැස්කර ගන්න පෙළඹුණු දූෂ්‍යතාවය හේතුවෙන්, අඩක් විවර වූ කුඩා පොතු දෙකක් පසුව හටගත් බව සඳහන් වෙනවා. ක්‍රම ක්‍රමයෙන් මිනිස්සු දස අකුසලයට බර වීමෙන්, සතර මහා ධාතුවල තියෙන රස ධාතු හීන වීම නිසා, පසුව රස ගුණ තරමක් අඩු වුනා. මේ කාලයේ යළි පහළ වූ ස්වයංජාත ඇල් ප්‍රභේදය, මුල් කාලයේ පහල වූ ඇල්වලට ප්‍රමාණයෙන් සමාන වුණත්, රස හා ගුණ ඒ මට්ටමෙන්ම බලාපොරොත්තු වෙන්න බැරි මේ නිසා. නමුත් ඊට ආසන්න ගුණයෙන් යුත්, ඒකෙම ප්‍රභේදයක් විදිහට හැඳින්වීම නිවැරදියි.

අති විශාල ජනගහනයක් හිටපු පැරකුම් රජ සමයේ රටවාසීන් ඇති තරම් බුක්ති විඳල, අතිරේක අස්වැන්න විදෙස් රටවලටත් අපනයනය කළේ සාමාන්‍ය වී ගොවිතැනට වඩා අතිවිශාල අස්වැන්නක්, අඩු ඉඩක වැඩි මහන්සියක් නැතිව ලැබෙන ස්වයංජාත ඇල්වලින් බව පෙනීයන කරුණක්. කාලයත් සමග යටපත් වූ මේ ඇල් ප්‍රභේදය, වසර දහසකට පමණ පසු මනුස්ස ප්‍රජාවගේ පුණ්‍ය වාසනාවට ස්වයංජාත ඇල් සුදු සහ රතු වශයෙන් ප්‍රභේද දෙකකින් මේ පින් බිමේ යළි පහළ වෙලා තියෙන්නෙ, 2012-12-21 දින කලි යුගය ගෙවිල, කෘත යුගය උදා වීමත් සමග යළි ☞

බිහි වන යහපත් ගුණගරුක සමාජයක පෙර නිමිති හා සත් දහම් පුනරුදයක පසුතලය වශයෙන් බව හැඟී යනවා.

**පෝෂ්‍ය ගුණය**

සාමාන්‍ය හාල්වලට වඩා දෙතුන් ගුණයකට වැඩියෙන් ප්‍රෝටීන්, මේදය හා විටමින් ආදී පෝෂ්‍ය පදාර්ථ රාශියක් අඩංගු වෙනවා. ස්වභාවිකව විටමින් "A" බහුලව හමුවෙලා තියෙන හාල් වර්ගයක්. මේ තොරතුරු අනාවරණය වුණේ ජාත්‍යන්තර පරීක්ෂණාගාරයක මෑතකදි සිදුකරපු පරීක්ෂණයකින්. මේ පරීක්ෂණ ප්‍රතිඵල ගැන අදහස් දක්වන පෝෂණවේදීන් හා වෛද්‍ය ක්ෂේත්‍රයේ ප්‍රවීණයින් පෙන්වා දෙන්නෙ, මේ ඇල් හාල් ගැබිනි හා කිරි දෙන මව්වරුන්ට වගේම ළදරුවන්ගේ පෝෂණයට අමතර ආහාරයක් වශයෙන් යොදා ගැනීම අතිශයින් සුදුසු බව.

තවමත් පෝෂණ විද්‍යාඥයින් සොයා ගෙන නැති, අති දුර්ලභ හා මානව පෝෂණයට ඉතා වැදගත් පෝෂ්‍ය පදාර්ථ තුනක් ස්වයංජාත ඇල් ප්‍රභේද දෙකේම තියෙනව කියල වැටහෙන බව, වහරක අභයරතනාලංකාර හිමියන් ප්‍රකාශ කරනවා. සුදු ප්‍රභේදයත් අධික පෝෂණයෙන් යුක්ත නිසා, විශේෂයෙන් ළදරු කිරි පිටි වෙනුවට යොදා ගත හැකි බවත්, පොදුවේ වර්ග දෙකම අමතර ආහාරයක් විදිහට ළදරුවන්ට වගේම මව්වරුන්ටත් ලබා දිය හැකි බවත් උන්වහන්සේ වැඩි දුරටත් පෙන්වා දෙනවා. අභයරතනාලංකාර හිමියන් මීට පෙර මේ ඇල් විශේෂයේ පෝෂණය පිළිබඳ කළ ප්‍රකාශයන්, මෑතක සිදුකළ රසායනාගාර පරීක්ෂණයන්ගෙන් තහවුරු වීම විශේෂ කරුණක්.

**විශේෂත්වය**

සාමාන්‍ය හාල්වලට වඩා අධික පෝෂණයෙන් යුක්ත වීමත්, අංග සම්පූර්ණ සමබල ආහාරයක් වීමත්, යල මහ කන්න භේදයක් නැතිව වසර පුරාවට අඛණ්ඩව අස්වනු ලැබීමත් මේ ස්වයංජාත ඇල්වල විශේෂ ලක්ෂණයක්. පහත රට තෙත් කලාපයේ සහ වියළි කලාපයේ පමණක් නෙවෙයි බදුල්ල, බණ්ඩාරවෙල වගේ සීත දේශගුණයක් තියෙන කඳුකර ප්‍රදේශවල පවා ස්වයංජාත ඇල් වගා කරල සාර්ථක ප්‍රතිඵල ලබා ගෙන තියෙනවා. වැදගත් වෙන්නෙ හොඳින් හිරු එළිය වැටීම සහ වගා කරන්නාගේ අලෝභ, අද්වේශ, අමෝහ ගුණයන්. මේ අනුව ඕනෑම කාලයක, ඕනෑම පසක, ඕනෑම ප්‍රදේශයක වගා කළ හැකි වීම විශේෂත්වයක්.

ඒ වගේම මේ ඇල් ප්‍රභේදය ගෙවත්තේ ගොඩ පොලවේ වැවෙනවා. ක්‍රමානුකූල ජල සම්පාදනයක් ආදී නඩත්තු කටයුතු අවශ්‍ය නැති, නියඟයටත් ඔරොත්තු දෙන බෝගයක්. අධික වර්ෂාවකදි වුණත් කරලින් ඇට වෙන් වෙන්නෙ නෑ. නමුත් දීර්ඝ වැසි කාලයකදි කරලෙදිම ඇට පැලවීමේ ප්‍රවණතාවයක් තියෙනවා. ගොයම් ශාකයේ එක කරලක් පමණක් හැදුනත්, මේ ස්වයංජාත ඇල්වල අග සිට මුලට පුරුකෙන් පුරුකටම කරල් එන නිසා අධික අස්වැන්නක් ලැබීමත් විශේෂත්වයක්. වීවල වගේ බිත්තර වී



ස්වයංජාත ඇල් හාල් ඇටයක පෙනුම

කියල විශේෂයක් නෑ. අනෙකුත් ධාන්‍ය වර්ගවලට වඩා අධික ප්‍රරෝහන ශක්තියක් තියෙනවා. මේ නිසා ළපටි ඇට පවා පැලවෙන සුළු ස්වභාවයෙන් යුක්තයි. මේ ශාකය සෑහෙන උසට වැඩෙන නිසා වල් පැල නිසා වන හානියත් අවමයි.

යම් හේතුවක් නිසා ගහ බිමට නැමිල වැටිච්ච කාලයක, ගහේ කරල බිම නොගෑවෙන්න ගහේ අග කොටස ඉහළට ඉස්සිලා පිහිටීම මේ ශාකය සතු තවත් විශේෂ ලක්ෂණයක්. බිමට වැටිච්ච ගහක අග කෙලවරේ තියෙන කරල කපා ගත් පසු ඊට පහළ පුරුක්වලින් එන ගිරිවලින් (රිකිලිවලින්) කරල් පැන නැගීම වෙනුවට මුල් අල්ලල පැල බවට පත්වෙනවා. මේ පැල අඩු කාලයකින් පීදෙනවා. අවශ්‍ය නම් කරල කපා ගත් පසු වැටිච්ච ගහේ පුරුක් අතරින් කපා හිටවීමෙනුත් වෙන වෙනම පැල ලබා ගන්න පුළුවන්.

ස්වයංජාත ඇල්වල ඇති සුවිශේෂී ලක්ෂණය තමයි, බෝගයේ සශ්‍රීකත්වය මානව ගුණ දහම් සමග තදින් බැඳී පැවතීම. මිනිස් ප්‍රජාව අතර බෙදා දීම ආදී ලෝකයට යහපතක් කිරීමේ සත් අරමුණු ඇතිව, අලෝභ ගුණයෙන් යුක්තව නිසරු පසක කරපු වගාවන් පවා අමතර පොහොරක් යොදන්නෙ නැතිවම බොහොම සරුසාර වෙලා අස්වැන්නත් අධික වෙලා තියෙනවා. වාණිජ අදහස් පෙරදැරිව ලෝභ ගතියෙන් යුක්තව සරුසාර බිම්වල කරපු වගාවන් තිබුණත්, පැල විසාල වශයෙන් මැරී යාමත්, හැදුනු පැල සාර නොවීමත්, අස්වැන්න අඩු වීමත් දකින්න ලැබුනු දෙයක්. **පසුගිය වසර තුනක පමණ කාලයක් තිස්සෙ වගා කරපු අයගෙ අත්දැකීම් අනුව පෙනී ගියේ අලෝභ, අද්වේශ, අමෝහ ගති තියෙන, ගුණ දහමෙන් පිරුණු සත් පුරුෂ පිරිස කරපු වගාවන් අතිශයින් සාර්ථක වූ බව.** ස්ව ශක්තියෙන් නැගී සිටින බෝගයක් නිසා පොහොර යෙදීම අත්‍යවශ්‍ය නෑ. නමුත් පස නිසරු හා තද කාෂ්ට ගතියෙන් යුක්ත නම්, පැල හිටවන්න පෙර කාබනික පොහොර එක් වරක් පමණක් යෙදීම සරු ඵලදාවකට ප්‍රමාණවත්. **මේ බෝගයේ සශ්‍රීකත්වය මානව ගුණ දහම් සමග බැඳී පැවතීම නිසාම රටේ බහුල ලෙස ව්‍යාප්ත වෙලා අධික සශ්‍රීකත්වයක් ලබන්න නම් රාජ්‍ය පාලක පිරිස් ඇතුලුව රටේ සමස්ථ ජනතාවගෙන් වැඩි පිරිසක් දැහැමි ගුණ ගරුක අය බවට පත්වීම අත්‍යවශ්‍යයි.**

**වැදගත්කම**

වී ගොවිතැනට තර්ජනයක් වන කෘමීන් සහ වල් පැල සඳහා රසායනික ද්‍රව්‍ය යෙදීමත් සමග, ඊට එරෙහි ප්‍රතිරෝධී ප්‍රභේද බිහි වීම නිසා ක්‍රමයෙන් අධි සැර රසායනික යොදමින් ඇවිත්, තව දුරටත් සැර වැඩි කළොත් මිනිස්සුත් මැරෙන සීමාවට ළඟා වෙලා, කර කියා ගන්න දෙයක් නැතිව විද්‍යාව හා

තාක්ෂණය අද වෙනකොට අසරණ වෙලා තියෙනවා. තවත් පැත්තකින් කෘෂි රසායන සහ කෘතිම පොහොර සඳහා අධික වියදමක් දරන්න සිදුවීම, ශ්‍රමිකයින් හිඟ වීම සහ ජල ප්‍රශ්ණ නිසා මඩට බැහැල කරන වී ගොවිතැන තව දුරටත් කරගෙන යාම අසීරු වෙලා තියෙන මේ වගේ කාලයක, කෘෂි රසායන හෝ කෘතිම පොහොර අවශ්‍ය නොවන, ජලයත් ඒ තරම් අවශ්‍ය නැති, නියඟයටත් ඔරොත්තු දෙන, අධික අස්වැන්නක් ඇති, පෝෂණයෙන් අනූන, ස්වයංජාත ඇල් ප්‍රභේදයක් පහල වීම රටේ මහා වාසනාවක්.

කෘෂි රසායන, කෘතිම පොහොර හා ජාන තාක්ෂණය භාවිතයත් සමග මී උණ, වකුගඩු ආබාධ, කොලෙස්ටරෝල්, අධි රුධිර පීඩනය, හදවත් රෝග, දියවැඩියාව සහ පිළිකාව වගේ බෝ නොවන රෝග විශාල ප්‍රමාණයක් රටට උරුම වුනා. බටහිර වෛද්‍ය විද්‍යාවටවත්, ආයුර්වේද වෛද්‍ය විද්‍යාවටවත් හසු නොවෙච්ච මේ රෝගී තත්වයන්ට මූල හේතුව කෘෂි රසායන ශරීරගත වීම බව, වසර 15,000 කටත් එපිට ශ්‍රී ලාංකීය ඉතිහාස උරුමයක් තියෙන හෙළ වෙදකම (දේශීය වෛද්‍ය විද්‍යාව) පෙන්වා දෙනවා. දහමට අනුව පෙනී යන්නෙ මේ රෝග බොහොමයක්, ඇත්තටම අකුසල කර්ම නිසා හෝ තුන් දොස් කුපිත වීම නිසා හෝ ශරීර අභ්‍යන්තරයෙන් පැන නගින නියම රෝග නෙවෙයි, ප්‍රයෝග විපත්ති නිසා හටගත් උපක්‍රමික ආබාධ බව.

**මී උණ හැදෙන්නෙ මීයන්ගෙන් නම් කෘෂි රසායන භාවිතයට පෙර මේ වගේ රෝග නොතිබුනේ ඒ කාලයේ කුඹුරු ආශ්‍රිතව මීයන් හිටියෙ නැති නිසාද?** බෝගයන්ට යොදපු කෘෂි රසායන හා යූරියා වගේ කෘතිම පොහොරවල අඩංගු සංයෝග මත මඩ වතුරේ තියෙන යම් යම් සංයෝජන ප්‍රතික්‍රියා කරල ලැබෙන විස රසායනික සංයෝග, තුවාල වගේ පාදයේ නිරාවරණය වෙච්ච තැන් හරහා ශරීරගත වීම මී උණ නමින් හඳුන්වන රෝගී තත්වයට හේතු වෙනවා.

දැනට රජරට ප්‍රදේශයේ පවතින වකුගඩු ආබාධය බටහිර වෛද්‍ය විද්‍යාවටත් විශාල අභියෝගයක්. සෞඛ්‍ය බලධාරීන් පවා පවතින තත්වය හමුවේ අසරණ වෙලා ඉන්නවා. දැනට වැඩිම කෘෂි රසායන භාවිතයක් තියෙන රජරට වාසීන්ට මේ වගේ තත්වයකට මුහුණ දෙන්න සිද්ධවීම පුදුමයට කරුණක් නෙවෙයි. කොලෙස්ටරෝල්, අධි රුධිර පීඩනය, හදවත් රෝග, දියවැඩියාව වගේම පිළිකා රෝගවලින් බොහොමයකටත් මේ කෘෂි රසායන ශරීරගත වීම හේතු වෙලා තියෙනවා.

ආදී මුතුන් මිත්තන් අද වගේ දෙතුන් ගුණයක් විශාල පැණි කැවුම් 10 ක් විතර එක වේලකදි ආහාරයට ගත්තා. ඒ කාලයේ තිබ්බච්ච යුද කටයුතුවලදි, ඒ වගේම බෙත් වර්ග හොයන්න, බට ලී වේවැල් කපන්න... ආදී වැඩවලදි දින ගණනාවක් මහ



අහස දෙසට යොමුවුණු සෝගම් කරල්

කැලෑවල ඉන්න සිද්ධ වුනාම ආහාරයට ගන්න පැණිවල දැමූ කැවුම් භාවිතා කරල තියෙනවා. තෙල්, පිටි සහ සීනි බහුලව තියෙන කැවුම් ආහාරයට ගත්තත් ඒ කාලයේ හිටපු වැඩි දෙනෙකුට කොලෙස්ටරෝල්, දියවැඩියාව තියා ඉහෙන් බහින ලෙඩක්වත් තිබුනෙ නෑ. නමුත් අද දවසේ ලෙඩ වෙයි දෝ කියල බියක් සැකක් නැතිව නිදහසේ එක කැවුමක්වත් කන්න පුළුවන් රටේ ජනතාවගෙන් කීයෙන් කී දෙනෙකුටද? ළමා වයසෙදිම දියවැඩියාව වැළඳිල තියෙන ප්‍රමාණය ක්‍රමයෙන් වැඩි වීම රටේ අනාගතය පිළිබඳ අඳුරු සෙවනැල්ලක්. වසර 5000 ක් පවතිනවයි කියන බුදු දහම ඉතිරි අවුරුදු 2400 රැකගෙන පවත්වාගෙන යන්න පිරිසක් ඉඳීවිද කියලත් මේ අනුව සැක සහිතයි.

වස විසෙන් තොර ආහාරයක් හොයා ගන්න අසීරු මේ වගේ කාලයක, ඒ හේතුවෙන් සමස්ථ රට වැසියන්ම එකම ලෙඩුන් පිරිසක් බවට පත්වී ගෙන එද්දි, කෘෂි රසායන හෝ කෘතිම පොහොර භාවිතයෙන් තොරව, වැඩි ජල අවශ්‍යතාවයකුත් නැතිව, ගොඩ පොළවේ වැවෙන, අංග සම්පූර්ණ පෝෂණයෙන් යුත් ස්වයංජාත ඇල් ප්‍රභේදයක් යලි පහළ වීම රටක් වශයෙන් ගත්තම මහා ජාතික වටිනාකමක් තියෙන දෙයක්.

ස්වයංජාත ඇල් රටේ අස්සක් මුල්ලක් නෑර ව්‍යාප්ත වෙලා සරු ඵලදාවක් ලැබෙන කාලයට, කෘෂි රසායන සහ කෘතිම පොහොර සඳහා විදේශයන්ට ඇදිල යන අති විශාල ජාතික ධනස්කන්ධයක් ඉතිරි වෙනවා පමණක් නෙවෙයි, පොදුවේ සමස්ථ රට වැසියන්ටම නිරෝගි සම්පතත් උදාවෙනවා. බෙහෙත් සඳහා විදේශ රටවලට ගලා යන ජාතික ධනය විශාල වශයෙන් ඉතිරි වෙන්නත්, රෝග පීඩා නිසා දුර්වල වෙලා ඉන්න රට ගොඩනගන ශ්‍රම බලකාය ජව සම්පන්න වෙන්නත් හේතු වෙනවා. ඒකෙන් කියන්නෙ ලෝකය ඉදිරියේ දෙපයින් නැගී සිටින අභිමානවත් ශ්‍රී ලාංකික පිරිසක්.

කෘෂි කාර්මික රටක් විදිහට අතීතයේ පටන් පැවති ශ්‍රී ලංකාව, කාර්මික කටයුතුවලින් දියුණු කරන්න යාම අනුවණකමක්. අපේ රටට ගැලපෙන විදිහට කෘෂි ආර්ථිකයක් ගොඩනැගීම සඳහා ස්වයංජාත ඇල් යොදා ගැනීම සැබෑම නුවණක්කාර කමක්. මේ අනුව ස්වයංජාත ඇල් ව්‍යාප්ත කිරීම තුළින් රට නැංවීමේ නැවුම් මාවතක් සත්පුරුෂ රාජ්‍ය පාලක පිරිස් ඉදිරියේ විවෘත වෙලා තියෙනවා. රාජ්‍ය මට්ටමෙන් මේ ඇල්වල පෝෂ්‍ය ගුණය පරීක්ෂා කරල බලල, රාජ්‍ය අනුග්‍රහය ඇතිව මහා පරිමාණයෙන් වගා කරන්න කටයුතු කිරීමෙන් ජනතාවගේ සාගිනි නිවීම විතරක් නෙවෙයි, පැරකුම් රජ සමයේ වගේ හාල් අපනයනය කරන්නත් පුළුවන් වෙයි. රාජ්‍ය පාලක පිරිසට ඒ සඳහා අවධානය යොමු කරන්න සුදුසු කාලය දැන් එළඹිලා තියෙනවා.

මේ වෙන කොට ඇමරිකාවේ ''**Global Press Journal**'' පුවත් පතෙත් ශ්‍රී ලංකාවේ යලි පහළ වූ ස්වයංජාත ඇල් පිළිබඳව විස්තරාත්මක වාර්තාවක් පළ වෙලා තියෙනවා. මේ බෝගයේ සශ්‍රීකත්වයට අලෝභ, අද්වේශ, අමෝහ කියන මානව ගුණ දහම්වල සාධනීය බලපෑම, ඒ ලිපිය පල කිරීම සඳහා තෝරා ගන්න විශේෂයෙන් හේතු වෙලා තියෙන බව දැන ගන්න ලැබිල තියෙනවා. බුදු දහමේ ආශිර්වාදය සැලකිය යුතු මට්ටමින් නැති වුණත්, පුරවැසියන් වැඩි දෙනෙක් තුල පවතින මානව ගුණ දහම් ඒ රටවල දියුණුවට හේතු වෙලා තියෙන බව හොඳින් විමර්ශනය කරන කොට පෙනී යන කාරණයක්. ලංකාවේ ව්‍යාපාරික ප්‍රජාව අතර ජනප්‍රිය ''**Daily FT**'' සඟරාවේ අප්‍රේල් 8 වෙනි දින කලාපයේ ඒ වාර්තාව උපුටාගෙන පළ කරල තියෙනවා. මෑත කාලයේ අලුතින් පහල වූ නිසා මේ ශාකයට ජීව විද්‍යාත්මක නමක් තවමත් යොදල නෑ. ස්වයංජාත ඇල් ගැන දියුණු රටවලත් උනන්දුවක් ඇති වෙලා තියෙන මේ වගේ මොහොතක, මේ ඇල් ශාකය නව විද්‍යාත්මක නාමයක් යටතේ ජාත්‍යන්තර පිළිගත් ලේඛණවල සටහන් කර ගන්න ශ්‍රී ලාංකික බලධාරීන් තව දුරටත් පමා විය යුතු නෑ.



**අභියෝග**

ස්වයංජාත ඇල් සඳහා ජනතා උනන්දුව වැඩි වන තරමටම ඒ සඳහා කරන පහර ගැසීම් වැඩි වෙලා තියෙනවා. කෘෂි අංශයට සම්බන්ධ, ඒවායින් යැපෙන සමහර පිරිස් මේ වටිනා බෝගයට "සෝගම්" වර්ගයක් කියල පහර ගහනවා.

වෙළඳපොළේ පවතින **බෝනොවන රෝග විශාල ප්‍රමාණයකට හේතු කාරක වන, පරිභෝජනයට අහිතකර මට්ටමින් විස රසායන යොදපු ආහාර ද්‍රව්‍යයන්ට කිසිදු විරුද්ධතාවයක් නොදක්වා, ජනතාවගේ නිරෝගිකම රකිමින් පෝෂණ අවශ්‍යතාවන් සපුරන ගමන් ආර්ථිකයටත් යහපත් වන මේ වටිනා බෝගයට මේ තරම් විරුද්ධව හඬ නගන්නෙ, තමන් තුල පැවතිය යුතු මානව දයාව විජාතික සමාගම්වල කාසිවලට විකුණල දාලද කියලත්** සැකයක් මතු වෙනවා.

ඉලෙක්ට්‍රොනික ඔරලෝසු මුලින්ම එනකොට ඒවා හදන්න නොදන්න නිසා තමන්ගෙ රැකියාව අහිමිවෙයි කියල, යාන්ත්‍රික (වයින් කරන) ඔරලෝසු නිෂ්පාදනය කරමින් හිටපු අය ඉලෙක්ට්‍රොනික ඔරලෝසුවලට විරුද්ධව මිත්‍යා මත පැතිරෙව්වෙනෑ. අවසානයේ ඉලෙක්ට්‍රොනික ඔරලෝසු අලුත්වැඩියා කරන්නෙත් ඔවුන්මයි. මඩට බැහැල ගොවිතැන් කිරීමක් අවශ්‍ය නොවන නිසා ඇල වේලි බැඳීමක් හෝ කෘතිම පොහොර යෙදීමක් හෝ විශේෂ කෘෂි උපදෙස් හෝ මේ ස්වයංජාත ඇල් සඳහා අවශ්‍ය නොවන බව ඇත්තක්. නමුත් ඒ නිසා කෘෂි නිලධාරීන් තමන්ගෙ රැකියාව අහිමිවෙයි කියල අස්ථාන බියක් ඇති කර ගත යුතු නෑ. **වස විස නැතිව, පොහොර ආදියට වියදමකුත් නැතිව, මඩට නොබැස ගෙවත්තේ වවා ගත හැකි, නියඟයටත් ඔරොත්තු දෙන, අස්වැන්නත් අධික නිසා ජනතාවගේ කුසගිනි පහසුවෙන් නිවාලිය හැකි, පෝෂ්‍යදායී, ප්‍රනීත රසයෙන් යුත් ආහාරයක් නම්, ඒකෙ නම මොකක් වුණත් නමට විවාද කරමින් ඉන්නෙ නැතිව ජනතාව අතර හැකි තරම් ව්‍යාප්ත කිරීම සත්පුරුෂ හැම දෙනාගෙම වගකීමක්.**

හිටපු ඇමරිකානු ජනාධිපතිවරයෙකු වූ ඒබ්‍රහම් ලින්කන් මහතා, වහල් මෙහෙය නැති කරන්න පනත් ගේන කොට ධනවතුන්ගේ උසිගැන්වීම නිසා අනවබෝධයෙන් ඇතැම් වහල් පිරිස්, වහල් මෙහෙය නැති නොකරන ලෙස උද්ඝෝෂණය කළා. වස විස නිසා සමස්ථ ජාතියම අවාසනාවන්ත ලෙස රෝගී වීගෙන යන මේ වගේ කාලයක රට වැසියන්ගේ පිනට පහළ වෙච්ච විකල්ප බෝගයක් වන ස්වයංජාත ඇල්වලට පහර ගහන්න කෘෂි අංශයේ ඇතැම් නිලධාරීන් පෙළඹී තිබීම කනගාටුවට කරුණක්.සමහර විට මේ නිලධාරින්ගෙනුත් වැඩි පිරිසක් මේ වෙන කොටත් දියවැඩියාව, කොලෙස්ටරෝල්, අධි රුධිර පීඩනය, හෘදයාබාධ හෝ වකුගඩු ආබාධවලින් පීඩා විඳිනවා වෙන්න පුළුවන්. ඒත් ඔවුන් මේ විදිහට විරුද්ධ වෙන්නෙ, ජනතාව වෙනුවෙන් හෙට දවසේ තනන්නට වෙහෙසෙන රෝග පීඩා අවම වූ ස්වයං පෝෂිත රටක් ගොඩනැගීමේ ගැලවුම්කාර බුද්ධ බෝගයට නේද කියල ඔවුන් නොදන්නව වෙන්න පුළුවන්. ඒ නිසා නොයෙකුත් වාද බේද සහ පටු ආර්ථික වාසි පැත්තකට දාල රටේ පොදු යහපත තකා මේ වටිනා බෝගය ව්‍යාප්ත කරන්න එක් වෙන්න කියල සියළු පුරවැසියන්ගෙන්ම දයාව කරුණාව පෙරදැරිව ඉල්ලා සිටිනවා.

**වෙනස**

ලෝක සම්මත උපාධි, සම්මාන සහ පාරම්පරික දැනුම තියෙනව කියල කෑගැහුවත් ස්වයංජාත ඇල්වලට සෝගම් කියල, පාරම්පරික ගොවි ජනතාව මුලා කරන්න ඒ අයට බෑ. **සමහර සෝගම් වර්ගවල ඇට ස්වයංජාත ඇල්වලට ආසන්න පෙනුමක් තිබුණත්, කරල් වශයෙන් බැලුවම අති විශාල වෙනසක් තියෙනවා. ස්වයංජාත ඇල්,ගොයම්,යව හාල්, බජිරි වගේ බත් විදිහට කෑමට ගන්න පුළුවන් ධාන්‍ය බෝගවල කරල පැහෙනවත් එක්කම පොලව දිහාවට නැමෙනවා. නමුත් සෝගම්, බඩ ඉරිඟු, ඉදල් ඉරිඟු වගේ එසේ නොවන ධාන්‍ය වර්ගවල කරල අහස දිහාවට කෙලින් පිහිටනවා.** දැනුමෙන් පෝෂණය වෙන්න වෙන්න ගොයම් කරල වගේ නිහතමානි වෙන්න කියල කියමනක් ජන වහරට එක්වෙලා තියෙන්නෙත් මේ අනුව. ඕනෑම ගොවි මහතෙකුටත් පියවි ඇහින් බලල අවබෝධ කර ගන්න පුළුවන් සෝගම්වල සහ ස්වයංජාත ඇල්වල වෙනස, කෘෂි ක්ෂේත්‍රයේ ඉහල දැනුමක් තියෙනව කියන සමහර අයට නොතේරීම පුදුමයට කාරණයක්.

**තවන් කිරීම**

බීජ සුළු ප්‍රමාණයක්

ගෙවත්තක හිටවන කොට තවන් දමල හිටවීමේ ක්‍රමය වඩා සාර්ථකයි. බිම පාත්ති හදල තවන් කරනකොට, ඇට කුහුඹුවන් රැගෙන යාමේ ගැටළුවට අමතරව, වියළි කාලයකදී පැලය ගලවල හිටවන්න සිද්ධ වුනොත් මූල පද්ධතියට වන හානියත් සමග වර්ධනය බාල වීමෙන් පැලය මැරී යාමේ අවදානමක් ඇති වෙන්න පුළුවන්. මේ නිසා බීජ තවන් කිරීමට අඟල් 3 1/2 ක් පමණ පළල පරිසර හිතකාමී මලු හෝ පොල් කටු, මැටි හට්ටි වගේ සුදුසු දෙයක් භාවිතා කරන්න පුළුවන්.

එහිදී වේලිච්ච වෙල් මඩ හෝ කළු පස් සමග කාබනික පොහොර කලවම් කරල තවන් බඳුන්වලට පුරව ගන්න ඕන. මතුපිටින් ඉතා තුනී වැලි තට්ටුවක් දැමීමත් සමහර අය කරනවා. අමතර ජලය ඉවත් වීමට බඳුන්වල පහළ ප්‍රදේශයේ සුදුසු පරිදි සිදුරු හදා ගන්න ඕන. ඇට හිටවන්න පෙර පස් පුරවපු බඳුන් කීප දිනක් නිදහසේ තැබීමෙන් පස්වල රසායනික ක්‍රියාකාරිත්වයෙන් නිපදවෙන තාපය සමනය වෙනවා. සාමාන්‍යයෙන් බීජවල විෂ්කම්භය වගේ හතර ගුණයකට වඩා වැඩියෙන් පස්වලට යට කළාම හරියට පැල නොවන නිසා, ඉරට්ටක් වගේ දෙයකින් අඟල් 1/4 පමණ ගැඹුරු සිදුරක් හදල පස මතුපිටට සමීපයෙන් ඇටය තැන්පත් කිරීම වඩා සුදුසුයි. ඇටය පසේ උඩට මතුවෙලා නොඑන ලෙස ඉතා පරිස්සමින් අතේ ඇඟිලිවලින් වතුර ටිකක් ඉහින්න.

දින තුනකින් පමණ ඇටය පැලවෙලා කූරක් වගේ කොටසක් උඩට එනවා. මුල් කාලයේ පැලයේ උස අඟල් 1 1/2 - 2 ක්වෙන කොට මූල පද්ධතිය අඟල් 3-5 ක් පමණ විශාලයි. බේසම් වගේ භාජනයක තවන් කරල පැල ගලවල හිටවන කොට මේ ගැන අවබෝධයෙන්, මූල පද්ධතියට හානි නොවෙන්න වැඩිපුර පස් සමග පැල ගලවගන්න ඕන. සති දෙක තුනකින් කොළ තුන හතරක් පමණ වැඩුනු තැන් පටන් හිටවන්න පුළුවන් වුණත්, අඟල් 6 ක් පමණ උස ගියාට පසු හිටවීම වඩා සුදුසුයි. බීජ වැඩි ප්‍රමාණයක් හිටවනකොට තද හිරු එළිය නොවැටෙන සිසිල් ස්ථානයක හණ ගෝනියක් එලල ඒකෙ බාගයක පමණ පැලකර ගන්න අවශ්‍ය ඇට ටික තියල, ගෝනියේ ඉතුරු කොටසින් වහල හොඳින් පෙඟෙන්න ජලය එකතු කරල දින 2 - 3 ක් තියල පැල කර ගැනීම වඩා පහසුයි. දින 1 1/2 කින් පමණ ගෝනියේ වහපු කොටස මඳක් ඔසවල බීජවල මුල් ඇදල තියේනම් හිටවන්න ගන්න පුළුවන්. මුල් ඇදල තියෙන බීජ තව දුරටත් ඒ විදිහට තැබීමෙන් ගෝනියට බීජවල මුල් තදින් කාවැදිල බීජ ඉවත් කරනකොට මුල්වලට හානි වෙලා පැලයේ වර්ධනය බාල වෙන්න පුළුවන්. පසු කාලයක මහා පරිමාණයෙන් වගා කරන කොට නගුල් කරපු පසේ ඇට ඉහළ, නැවත මතුපිටින් ඇට වැහෙන්න සුළුවෙන් නගුල් කරගන්න පුළුවන්. රටේ බහුලව වගා කරන්න ගත්තම කුඹින් හානි කළා කියල ගැටළුවක් වෙන්නෙ නෑ.

**පැල සිටුවීම**

මේ සඳහා හොඳින් අව්ව



වැටෙන තැනක් තෝරගන්න ඕන. වසරේ ඕනෑම කාලයක හිටවන්න පුළුවන් වුණත්, වගා කරපු අයගෙ අත්දැකීම් අනුව පෙනී යන්නෙ මාර්තු සිට මැයි දක්වා කාලයේ හිටවපු පැල වඩා සරුසාර වූ බව.

වෙනත් බෝග වගේ ස්වයංජාත ඇල්වලටත් පිරිමි ගැහැණු හා නපුංසක ශාක තියෙන්න පුළුවන්. සාමාන්‍යයෙන් සරු එලදාවක් එන්නෙ ගැහැණු ශාකවල. ඒක බොහෝ කොටම තීරණය වෙන්නෙ බෝගය හිටවන වෙලාවට පවතින විශ්ව කිරණවල බලපෑම අනුව. පාරම්පරික ගොවි ජනතාව අතර භාවිතා වන ගොවි ලිතක් ඇසුරින් සුදුසු නැකැත් අනුව හිටවීමෙන් වගාව සරුසාර කර ගන්න පුළුවන්. **ව්‍යාඝ්‍ර හා සිංහ නැකැත්වලින් හිටවපු ගොයම් පැල හරක් ආදී සතුන් කෑමට නොපෙළඹෙන බව පාරම්පරික ගොවි ජනතාව අත්දකපු දෙයක්.** මේ නිසා බෝග වගාවටත් නැකැත් තරුවල බලපෑම පවතින බව තේරුම් ගන්න ඕන.

මංගල සූත්‍රයේ සඳහන් '' පුබ්බේ ච කත පුඤ්ඤතා'' කියන මංගල කාරණය අනුව යමක් කිරීමට ප්‍රථම පිනක් කිරීම හෙළ බොදුනුවන් අනුගමනය කරපු ක්‍රමයක්. වී ගොවිතැන් කරපු පැරණි අය කුඹුරු කොටන්න ගියත් පළමු උදලු පාර ගහන්න කලින් තුනුරුවන්ට වැඳල ඉන්නවා. නමුත් බලන් ඉන්න කෙනෙකුට පේන්නෙ උදැල්ලට වඳිනව වගෙයි. හැබැයි අද මේ කාරණය ඇත්තටම උදැල්ලට වැඳීමට සීමා වෙලා තියෙනවා. තුනුරුවන් කෙරෙහි ප්‍රසාද මාත්‍රයක් නගා ගත්තත් අප්‍රමාණ පිනක් අත්වෙනවා. මෙතනදී යහපතක් වීමට සුදුසු සමනන්තරයක් ධර්මානුකූලව ගොඩනැගෙන නිසා යහපත් නැකැතක් ඉබේම ගැලපිලා එනවා.

ගස් අතර පරතරය අඩි 3 කුත්, ගස් අතරින් ගමන් කිරීමට පහසු වෙන විදිහට පේළි අතර පරතරය අඩි 4 කුත් වෙන්න හිටව ගන්න ඕන. තෙත ගෝනියක පැල කරගත් ඇට හිටවනකොට හීන් කෝටුවක් හෝ ඉරටු කැබැල්ලක් අරගෙන, සුද්ද කරගත් ඉඩමේ ඉහත පරතරය ඇතිව අඟල් 1/4 පමණ ගැඹුරු වලවල් හාරල පැල වෙච්ච බීජ 1 ක් හෝ 2 ක් තැන්පත් කරල, පැලය ටිකක් ලොකු වෙනකල් ඇටය තැන්පත් කරපු තැන හඳුනාගැනීම සඳහා කෝටුවක් පොල් ඉරටුවක් වගේ යමක් හිටවල සලකුණක් තියා ගැනීම සුදුසුයි.

එක ගහකින් පැල 4-5 සිට 15-18 දක්වා පඳුරු දාල හැදෙනවා. සාමාන්‍යයෙන් අඩි 8-9 ක් පමණ උසට වැඩෙනවා. සමහර ගස් අඩි 15 ක් පමණ උසට වැඩුණු අවස්ථාත් තියෙනවා. එකට හේත්තු වෙලා ගස් පිහිටීම නිසා එකිනෙකට ආධාර වීමෙන් සුළඟට ගස් වැටීම අඩු වෙනවා. ගස් සුළඟට වැටෙනව නම් ආධාරක කෝටු හිටවීම අවශ්‍යයි. පැල හිටවපු මුල් අවධියේ, පසේ තෙතමනය මදිනම් ජලය තරමක් සුදුසු පරිදි යෙදිය යුතු වුණත්, පසුව ජලය යොදන්න ඕන වෙන්නෙ ගහට අවශ්‍ය වුනාම විතරයි. කොළ මැලවෙන ගතියක්

තියෙනව නම් ගහට ජලය අවශ්‍ය බවට ලකුණක්.

පැල හිටවල මාසයකින් පමණ ගස් මුලට පස් ස්වල්පයක් එකතු කිරීම හොඳයි. නැවත මාස දෙකකදි පමණත් පීදෙන්න කිට්ටුව වගේ සැරින් සැරේ පොළව මතුපිට උඩට මතුවෙලා තියෙන මුල් මතට පස් ටිකක් එකතු කිරීම වැදගත්.

**පොහොර සාදා ගැනීම**

පැල හිටවන්න පෙර පස සාරවත් කිරීම සඳහා ස්වභාවික ක්‍රම කිහිපයක් තියෙනවා. පොල්පිති, පොල්ලෙලි හා කොලපු පුච්චල ලබා ගත් අළු මිශ්‍රණය සහ ගැඩවිල් පස් 1:1 අනුපාතයට මිශ්‍ර කරල හදාගත් පොහොර කුරුනියක් අක්කරයක වගා බිමකට ප්‍රමාණවත්. මෙයින් පස සාරවත් කිරීමට අමතරව කෘමි හානියත් අවම කරනවා. මේ වෙන කොට මේ පොහොර මිශ්‍රණය භාවිතයෙන් සාර්ථක ප්‍රතිපල ලබාගත් අය ඉන්නවා.

දර, කොළරොඩු, ලී කුඩු ආදිය ආවරණය කළ ලෝහමය බැරලයක් වගේ යමක වාතය රහිතව පුළුස්සා ගැනීම, මායාවරුන් පොහොර හදා ගන්න අනුගමනය කරපු ක්‍රමයක්. ඒ වගේම ගොම හෝ එළු බෙටිත්, කාබනික පොහොරත් යොදන්න පුළුවන්. ගොම දිය කරල ගහ වටේට දැමීමත් කරන්න පුළුවන්. පොල්මුඩු දැමීමේ වරදක් නැතත්, කොහුබත් යෙදීම හානි කර වෙන්න පුළුවන්. පැල හිටවන්න පෙර ඉහත ආකාරයට පොහොර යෙදීමෙන් ඵලදාව වඩාත් සරුකර ගන්න පුළුවන්. කෘතිම පොහොර යෙදීමෙන් ශාකයේ වර්ධනය තරමක් වැඩි වුණත්, බීජවල ගුණාත්මක බාවය අතිවිශාල ප්‍රමාණයක් අඩුවන බව කාලයක් තිස්සේ වගා කරපු අයගේ අත්දැකීමක්. අමතර මුදලකුත් වැය කරගෙන ඒ වගේ දෙයක් කිරීම මහා අනුවණකමක්.

**කෘමි විකර්ශනයට හා සාරවත් අස්වැන්නකට**

වගා බිමේ තැනින් තැන අඟල් 6×6 ප්‍රමාණයේ වලවල් කපල, ඒකට වල් සූරියකාන්ත, ඇල්බීසියා (වැටමාර), ගඳපාන, කැප්පෙටියා, කඳුරු, කොහොඹ යන ශාකවල අමු කොළ සම ප්‍රමාණ අරගෙන කුඩා කැලිවලට කඩල දාල පස්වලින් වහන්න. කෘමි විකර්ශනයටත්, දිලීර මර්දනයටත්, බෝගයට අවශ්‍ය විවිධ පෝෂක ද්‍රව්‍ය සුදුසු ආකාරයට ලැබෙන විදිහටත් සකස් කරපු මේ ක්‍රමය පුරාණයේ භාවිතා කරපු ක්‍රමයක්.

දැනට ස්වයංජාත ඇල්වලට ගොයම් මැස්සගෙන් සිදුවන හානියක් ගැන අහන්න නොලැබුනත්, කාලයත් සමග එන විපර්යාස නිසා ඉදිරියේදී එහෙම උවදුරක් ආවොත් ඒ උවදුර අවම කරන්න, කරල් පීදෙන කොට



"දස පර්ණ කසාය" සකස් කර ගත් මොහොතෙම සන්ධ්‍යා කාලයේ ගහට ඉහින්න ඕන. කොහොඹ, ගඳපාන, දාස්පෙතියා, මදුරුතලා, පැගිරි කුලයේ ශාක වගේ සතුන් නොකන ගස්වල කොළ වර්ග 10 ක් හෝ පුළුවන් ප්‍රමාණයක් අරගෙන කොටල වතුර දාල ඉස්ම ගැනීමෙන් දස පර්ණ කසාය හදා ගන්න පුළුවන්. කොහොඹ ඇට හා දුම්කොළ නැටි කුඩා කැබලිවලට කඩල දින තුන හතරක් වතුරට දාල තියල ගහට ඉසීමත් කෘමි විකර්ශනයට හේතු වෙනවා. මේවා ගහට ඉසීම සඳහා වැඩි මුදලක් වැය නොවන කුඩා අත් දියර විසිරුම් වෙළඳ පොළෙන් මිලට ගන්න පුළුවන්.

**කරුණා මෛත්‍රී සිත් ඇතිව ගස් සමග සම්බන්ධව නිතර සිටීමෙනුත් කෘමි හානි අවම වන බව** වගා කරපු පිරිස් අත්දැකල තියෙනවා. 'කුරා'කියල කුඹි විශේෂයක් ගහට නගිනවද කියල විමසිලිමත් වෙන්න. එහෙම එන්නෙ පත්‍රවල යටි පැත්තෙ ඉන්න කෘමි සතුන් කන්න. ඒ කුඹීන්ගෙ පැමිණීම කෘමීන් ඉන්න බව හඳුනගන්න ලක්ෂණයක්. එතකොට සුදු කහ පැහැයට හුරු පුස් වගේ යමක් පත්‍රවල යටි පැත්තෙ පිහිටනවා. ඒ සඳහා ඉහත කෘමි විකර්ෂක භාවිතා කරන්න පුළුවන්. වතුර ඉසිනයක් භාවිතා කරල ඒවා සෝදා හැරීමත් සාර්ථක ක්‍රමයක්. කෙසෙල් ගහක පරඬැල් කපල සුද්ද කරනව වගේ මේ බෝගයත් නිතරම පිරිසිදුව තබා ගැනීමෙනුත්, ගහ පහළට නැමිල කොළ බිම ගෑවෙන්න ඉඩ නොදීමෙනුත් කෘමි උවදුරු අවම කර ගන්න පුළුවන්. කොහොම නමුත් සුදු ප්‍රභේදයේ සාපේක්ෂව ලෙඩ රෝග අඩු බව පෙනී යනවා.

කෘමි විකර්ෂණයටත්, නිසි කලට අව්ව වැස්ස ලැබිල සුදුසු පරිදි පරාග පෝෂණය වෙලා, වී ගොවිතැන සරුසාර කර ගන්නත් පැරණි ගොවි මහත්වරු භාවිතා කරපු, දැනටමත් බොහෝ දෙනා අනුගමනය කරන අතිසාර්ථක ප්‍රතිඵල ලබල තියෙන ක්‍රමයක් පහතින් දැක්වෙනවා. අළුයම කපුටො අඬන්න පෙර, කතා නොකර වතුර කලයක් අරගෙන, ඒකට සුදු හඳුන් කුඩු ස්වල්පයක් දාල පුවක් මල් කිනිත්තක් හෝ දෙහි අතු කැල්ලක් අරගෙන, පහත වටිනා ගාථාවෙන් 108 වරක් පිරිත් කර ගන්න.

**ඛනේන අග්ගිං ජල මාන නාය**
**සබ්බං පි වේ චන්දන දාරු බීයේ**
**ශරීර බීයේ සුගතස්ස ධාතුයෝ**
**මුත්තං සුවණ්ණං සුමනංව දිස්සති**

තථාගතයන් වහන්සේගේ ශ්‍රී දේහය තැන්පත් කළ සඳුන් සෑය සුදුසු වෙලාවට ගිනිගත් අතර, සුදුසු වෙලාවට ජලය පැන නැගී ගින්න නිවී ගොස් සුගතයන් වහන්සේගේ ශ්‍රී ධාතූන් වහන්සේලා රන්වන් පැහැයෙන් මුතු මෙන් දිස් වූයේ යම් සේ ද, එලෙසින්ම මේ වගා බිමේ ඇති බෝගයන්ට සුදුසු වෙලාවට අව්වද, සුදුසු වෙලාවට වැස්සද ලැබී සාරවත්ව රන් මෙන් මුතු මෙන් හොඳින් අස්වනු ලැබේවා කියල අදහස් කරගෙන, පිරිත් කර ගත් පැන්, පුවක් මල් කිනිත්තකින් හෝ දෙහි අතු කැල්ලකින්, කතා නොකර වගා බිමට සහ බෝගයන්ට ඉහින්න. සෙත් පැන් මදි නම් සාමාන්‍ය ජලයට කළවම් කරල ඉහින්න පුළුවන්.

ඇට තවත් කරන ☞

කොටත්, පැල හිටවන කොටත්, බෝගයට වතුර දාන කොටත්, කවුරුත් දන්න'සබ්බ පාපස්ස අකරණං........' ගාථාව භාවිතා කිරීමෙන් කෘමි විකර්ශනය වෙලා යහපතක් වෙනවා. අනෙකුත් ආගම් අදහන අයට තම තමන්ගෙ ආගමට අනුව අනුරූප ආකාරයෙන් ක්‍රියා කරන්න පුළුවන්. ඒ වගේම මේ සඳහන් කරපු විශේෂ ක්‍රමවේදවලින් බොහොමයක් ස්වයංජාත ඇල්වලට විතරක් නෙවෙයි, පොදුවේ අනිකුත් වගාවන්වලටත් යොදා ගන්න පුළුවන්.

**අස්වනු නෙලීම**

සාමාන්‍යයෙන් සුදු ප්‍රභේදයෙන් මාස 3-4 කිනුත්, රතු ප්‍රභේදයෙන් මාස 5-8 කිනුත් අස්වැන්න ලැබෙනවා. මීට වඩා කාලය අඩු වැඩි වුන අවස්ථාත් තියෙනවා. මුල්ම කරල ගහේ අග එනවා. කරල අග කෙලවරේ පටන් ගහට සම්බන්ධ තැන දක්වා ක්‍රමයෙන් පොතු විවර වෙලා එනවා. මුළුමනින්ම පොතු විවර වුනාට පස්සෙ කරල කපා ගන්න පුළුවන්. කරල කපා ගත් ගහේ ඊට පහල පුරුකෙන් ගිරියක් ඇවිත් තවත් කරලක් හැදිල එනවා. මේ විදිහට එක ගහකින් පුරුකෙන් පුරුකට උඩ සිට පහලට ක්‍රමයෙන් කරල් එනවා.

සුදු ප්‍රභේදයේ ඇට සාපේක්ෂව තරමක් විශාල වගේම අස්වැන්නත් වැඩියි. ඒ කරල බොහෝ විට අඩි 2 1/2 - 3 අතර දිගින් වැඩෙනවා. රතු ප්‍රභේදයේ කරල් 10 ක පමණ අස්වැන්න එක සුදු කරලකින් ලැබෙන අවස්ථාත් තියෙනවා. කරල්වලින් ඇට වෙන්කර ගන්නකොට මැස්සක් හදල, සිහින් කෝටු දැලක අකාරයට බැඳල, වටේට ඇට විසි නොවන ආකාරයට මැටි ගහල ආවරණය කරල, කරළ පිටින්ම අල්ලල කෝටු මැස්සට ගැසීමෙන් මැස්ස යටට ඇට වෙන් වෙලා වැටෙනවා. මේක පුරාණයේ භාවිතා කරපු ක්‍රමයක්. කෝටු මැස්ස වෙනුවට කම්බි දැලක් අද කාලයට ගැලපෙන විදිහට යොදා ගන්නත් පුළුවන්. සාමාන්‍ය ගොයම් පාගන ආකාරයටත් ඇට වෙන්කර ගන්න පුළුවන්.

ඇට වෙන් කරනකොට ඇටත් එක්ක සිහින් දූවිලි වගේ කුඩක් එකතු වෙනවා. මේවා වී වගාවෙදි නම් '' කාටුව '' කියල හඳුන්වනවා. මේ කාටුව ඇඟේ ගෑවුනාම තරමක් කසන සුළුයි. මේ කාටුව දකින්න ලැබෙන්නෙත් බොහෝ කොටම බත් විදිහට ආහාරයට ගන්න පුළුවන් ධාන්‍ය බෝගයන්ගේ විතරයි. දැනට ලංකාවේ බහුලව දකින්න තියෙන එකම සෝගම් වර්ගයකවත් මේ වගේ කසන සුළු කුඩක් හමු නොවීමත් විශේෂයක්. ස්වයංජාත ඇටත් සමග එකතු වන මේ කාටුව කුල්ලකින් පොලා ගැනීම හෝ සුළං කිරීම මගින් පහසුවෙන් ඉවත් කර ගන්න පුළුවන්.




වී වගාවෙදි එක කන්නයක් වගා කරල ලබා ගන්න අස්වැන්න, අනෙක් කන්නය වගා කරල අස්වනු නෙලනකල් කෘමි සතුන්ගෙ හානියක් නැතිව පරිභෝජනය සඳහා තියාගන්න අද වගේ පැරණි අය රසායනික ද්‍රව්‍ය භාවිතා කළේ නෑ. ඒ සඳහා ඔවුන් යොදා ගත්තෙ මුළුමනින්ම ස්වභාවික වූ '' වී බිස්ස '' කියන මැටිවලින් හදා ගත්තු උපකරණයක්. ඒකෙ අභ්‍යන්තරයේ ගැඩවිල් පස් වගේ කෘමි විකර්ශක මිශ්‍රණයක් තියෙන්න ඇති කියල හිතන්න පුළුවන්. මේ නිසා මේ වී බිස්ස තුල ගබඩා කරන වීවලට ගුල්ලන් ඉපියන් වගේ සතුන්ගෙන් හානියක් නොවීම විශේෂත්වයක්.

හාල් ඇටයට පිටින් තියෙන කුරුට්ට පිටින්ම තියා ගැනීමෙන් ගුල්ලන් ආදී සතුන්ගෙන් එන හානි අවම කර ගන්න පුළුවන්. නමුත් ඇටයේ ඇති විශේෂ රසයත්, අහිතකර රසායන නොමැති වීමත් නිසා ගුල්ලන් ආදී සතුන්ගේ ආකර්ශණය වැඩියි.

පසුගිය කාලයක් තිස්සේ ස්වයංජාත ඇල් වගා කරපු සත්පුරුෂ පිරිස් කළේ, තමන්ට ලැබෙන ලැබෙන අස්වැන්න හැකි තරම් ජනතාව අතර ව්‍යාප්ත කිරීම. මේ හේතුවෙන් වී බිස්සක ගබඩා කරල තියල, වීවලට වගේ ගුල්ලන් ආදී සතුන්ගෙන් හානි වෙන්නෙ නැද්ද කියල පරික්ෂා කර ගන්න අවස්ථාවක් නොලැබුනත් එහෙම හානි නොවෙයි කියල ලොකු විස්වාසයක් තියෙනවා.

යල මහ කන්න භේදයක් නැතිව දිගටම අස්වනු ලැබෙන නිසාත්, අධික පැවිල්ලක්, අධික වර්ෂාවක් වගේ ස්වභාවික හේතු මත වගා හානිය අවම වීම නිසාත්, වෙනත් බෝග වගේ ස්වයංජාත ඇල් ගබඩා කර ගන්න අවශ්‍ය වෙන එකක් නෑ. නමුත් මේ බෝගය නිර්මාණය වෙලා තියෙන්නෙ තණ්හාවෙන් රැස් කරගන්න නෙවෙයි, එදිනෙදා පාවිච්චියට. ඒ නිසා වැඩිපුර කොටස නැති බැරි අය අතර බෙදා දීම තමයි සුදුසු වෙන්නෙ.

**පැරැන්නන් ගිය මග**

අස්වනු නෙලන්න පෙර වී කරල් කිරි වැදීගෙන එන කොටම පැරණි බොදු ගොවියෝ කුඹුරට ගිහින් අතින්ම පොඩි කරල ලැබෙන හාල් ඇටවලින් කිරි ආහාරයක් සකස් කරල බුදුන් වහන්සේ ප්‍රමුඛ මහා සංඝයා වෙනුවෙන් උපහාර පූජාවක් කළා. ඒකෙන් බෝග වගාවට සාසන ආශිර්වාදය ලැබුනා. ඔබටත් ඒ අනුව කටයුතු කරන්න පුළුවන්.

හින්දු බැතිමතුන්ට තමන් අදහන දෙවි දේවතාවන් උදෙසා කිරි ආහාර හෝ සුදුසු විදිහට මුල්ම අස්වැන්නෙන් පූජා ආදිය සිදු කරන්න පුළුවන්. ඒ තුලින් තමන්ගෙ වගාවන්ට දේව ආශිර්වාදය ලබන්න හේතු වෙනවා. පැරණි බොදු ගොවි පිරිසත් ප්‍රථම අග්‍ර සෂ්‍ය කොටස අරගෙන බුදුන් වහන්සේට උපහාර

බුද්ධ පූජාවක් සිදුකරල, පසුව දෙවි දේවතාවන් උදෙසාත් දහමට අනුව පූජා ආදිය සිදුකරල තියෙන බව පෙනී යනවා. වෙනත් ආගම් අදහන අයට තම තමන්ගෙ ආගමට අනුව කටයුතු කර ගන්න පුළුවන්.

**ආහාරයට ගැනීම**

ප්‍රධාන වශයෙන් බත් සහ කැඳ වශයෙන් ආහාරයට ගන්න පුළුවන්. රතු ප්‍රභේදයට වඩා සුදු ප්‍රභේදයෙන් කුඩු කරගත් පිටිවලින් ආහාර වර්ග තනා ගැනීම පහසුයි. පිට්ටු, ඉඳි ආප්ප, මුං කැවුම්, අලුවා ආදී සාමාන්‍ය හාල් පිටිවලින් තනා ගන්න පුළුවන් හැම ආහාරයක්ම වගේ සකස් කර ගන්න පුළුවන්. වී වගේ පොතු නැති වුණත්, කබලෙ බැදල විළඳ (පොරි) හදා ගන්න පුළුවන්. කුඩු කර ගත් හාල් පිටි හරියට සකස් කරගැනීමෙන් ළදරුවන්ට, ගැබිනි මව්වරුන්ට සහ කිරි දෙන මව්වරුන්ට අමතර පෝෂණ ආහාරයක් විදිහට ලබා දෙන්න පුළුවන්.

හාල් ඇටයේ කුරුට්ට සමග තම්බනවනම් පැය 3ක පමණ කාලයක් ගතවෙනවා. පීඩන උඳුනක් භාවිතා කිරීමෙන් ඉක්මනින් තම්බ ගන්න පුළුවන්. නමුත් කුරුට්ට සුද්ද කර ගත්තට පස්සෙ ඉක්මනින් තැම්බෙන නිසා එහෙම කරන්න අවශ්‍ය නෑ. දහයියා සමග මිශ්‍ර කරල වංගෙඩියක දමල කොටා ගෙන කුල්ලකින් පොලා ගැනීමෙන් හෝ සාමාන්‍ය හාල් ඔප දමන යන්ත්‍රයක් ආධාරයෙන් හෝ කුරුට්ට සුද්ද කර ගන්න පුළුවන්. කුරුට්ට සුද්ද කර ගත්තම හාල් ඇටයේ නියම ස්වභාවය දිස් වෙනවා. ඒ වගේම ආහාරයට ගන්නකොට නියම ප්‍රනීත රසය දැනෙනවා. ස්වයංජාත ඇල්වල තියෙන මේ කුරුට්ට පොත්තටම අයිති කොටසක් මිසක් හාල් නිවුඩ්ඩ වගේ දෙයක් නෙවෙයි. ඒ කුරුට්ටේ ගුණයක් නෑ. ඒ නිසා ඒක ඉවත් කර ගැනීම තමයි වඩා සුදුසු. සුදු ප්‍රභේදය ආහාරයට ගැනීම වඩා පහසුයි, රසයෙනුත් වැඩියි. සාමාන්‍යයෙන් රතු ප්‍රභේදය ගුණයෙන් වැඩියි. සාමාන්‍ය හාල්වලින් පිලියෙල කර ගත් බතක් වගේ වැඩි ප්‍රමාණයක් ආහාරයට ගැනීම අවශ්‍ය වෙන්නෙත් නෑ. සුළු ප්‍රමාණයක් ආහාරයට ගැනීම සමබල ආහාර වේලකට ප්‍රමාණවත්.

බත් වශයෙන් ආහාරයට ගන්නකොට සාමාන්‍යයෙන් වැඩිපුර ගත්තත් එපා නොවන ආහාරයක්. පැණි රසත් නැති, තිත්තත් නැති, කහට රසකුත් නැති, වචනයෙන් විස්තර කරන්න බැරි ප්‍රියජනක ප්‍රණීත රසයකින් යුක්තයි. ව්‍යංජනයක් කියල විශේෂයෙන් අවශ්‍ය වෙන්නෙත් නෑ. කැමති නම් පොල් ටිකක් කලවම් කරල ගන්න පුළුවන්. ශරීර ශක්තිය, ජවය වර්ධනය කරනවා. හිස කෙස් වර්ධනයටත් හිතකරයි. ස්වයංජාත ඇල් ආහාරයට ගැනීමෙන් කම්මැලිකම නැතිවෙලා ප්‍රබෝධමත් ගතියක් ඇති වෙනවා. ඉතාම මෘදු ආහාරයක් නිසා බඩ විරේක කරපු අවස්ථාවක මුලින්ම කන්න දෙන්නත් සුදුසුයි.


ස්වයංජාත ඇල්වලින් පිසූ ආහාර

ස්වයංජාත ඇල් ශාකයේ ගති ස්වභාවය වගේ තමන්ටත් ස්වශක්තියෙන් කටයුතු කිරීමේ මානසික බලයක් ලැබෙනවා. කාලයක් තිස්සේ රසකාරක, වර්ණකාරක, සැකරින් හා අධිකව ලුනු භාවිතා කිරීමෙන් දිවේ රස දැනෙන කොටස් දුර්වල වෙලා ආහාරවල නියම රසය නොදැනෙන ස්භාවයක් ඇති වෙනවා. ස්වයංජාත ඇල් ආහාරයට ගැනීමෙන් ඒ තත්වය ප්‍රකෘතිමත් වෙන්නත් හේතු වෙනවා. කෑම අප්‍රිය කරන දරුවන්ට බත් විදිහට සකස් කරල භාජනයකට දාල කන්න දුන්නම බොහෝ ප්‍රිය මනාපයක් ඇති වෙනවා. බත් අහුරක් කෑවත් පෝෂණයට ප්‍රමාණවත්. දරුවන්ගේ ශරීර ශක්තිය, රෝගවලට ඔරොත්තු දීමේ ශක්තිය පමණක් නෙවෙයි, ඥාන ශක්තිය වර්ධනයටත් බෙහෙවින් ගුණදායකයි.

**ස්තුතිය**

ස්වයංජාත ඇල් කාලයක් තිස්සේ වගා කරපු අය අත්දැකීමෙන් ලබාගත් දැනුම මේ ලිපිය සකස් කරන්න බෙහෙවින් උපකාරී වුනා. ඒ අතර කහතුඩුව ප්‍රදේශයේ පත්මා කහදූව මහත්මිය, නාවුක අංශයේ සේවය කරන අළුත්ගම චරිත් දේශාන් ද සිල්වා මහතා, ශ්‍රී ලංකා යුද හමුදාවේ කිලිනොච්චිය ආරක්ෂක සේනා මූලස්ථානය යටතේ සේවය කරන ලයනල් සමරවීර මහතා, කළුතර ශ්‍රී ලංකා පොලිස් විද්‍යාලයේ ඵලදායිතා ප්‍රවර්ධන අංශයේ ස්ථානාධිපති නිහාල් මෙන්ඩිස් මහතා, ගොඩගම ආර්. එච්. එම්. දිසානායක මහතා, පාදුක්ක ප්‍රදේශයේ සුජීවනී ජයවර්ධන මෙනවිය, නෙළුව ප්‍රදේශයේ පාරම්පරික ගොවිතැන් කටයුතු කරන සරත් නිශාන්ත මහතා සහ ඊ. ඩබ්. පද්මකුමාර මහතා, කළුතර දිස්ත්‍රික් මහ රෝහලේ වෛද්‍ය නිලංග හේම ශ්‍රී මහතා, ගුප්ත විද්‍යාවේදී සුජිත් අරවින්ද මහතා ඇතුලු පිරිස වගා කටයුතු සම්බන්ධයෙන් කරුණු ලබා ගන්න බොහෝ උපකාර කළා.

**යුතුකම**

මේ වටිනා බෝගය ඔබ අතට පත් වුනා වගේම, ඔබ ලබපු අස්වැන්නෙන් සුළු කොටසක් හෝ වටිනාකම පෙන්වා දීල වැඩි දෙනෙක් අතර බෙදා දීමෙන් ස්වයං පෝෂිත රටක් ගොඩනැගීමේ ජාතික මෙහෙවරට ඔබටත් දායක වෙන්න පුළුවන්. එක් අයෙකුට සීමිත බීජ ප්‍රමාණයක් බැගින් ලබා දෙන්න වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය කටයුතු කරගෙන යනවා. (077-5502419 අංකය ඔස්සේ මහේෂ් මහතා අමතන්න). පෙර කාලයේ අප සතුව තිබිච්ච වටිනා පාරම්පරික සහල් වර්ග, අල වර්ග, එළවළු වර්ග සහ ඔසු පැල වර්ගවලට අත්වෙච්ච අවාසනාවන්ත ඉරණම මේ වටිනා බුද්ධ බෝගයටත් සිදුවෙන්න ඉඩ නොදී රැකගෙන, අභියෝග හමුවේ නොසැලී ව්‍යාප්ත කරන්න වෙහෙසීම ඔබගේ වගකීමක්.

සටහන
**යයස් දර්ශනප්‍රිය**
**අලුත්ගම**
**071-4282675**

# පිත්තාශයේ, මුත්‍රාශයේ හා වකුගඩුවල ගල් දියවීමටත් අම්ල පිත්ත ප්‍රදාහයටත් ප්‍රත්‍යක්ෂ ඔසුවක්...

පිත්තාශයේ, මුත්‍රාශයේ හා වකුගඩුවල ගල් ඇතිවීමත්, අම්ල පිත්ත ප්‍රදාහයත් අද වෙනකොට සුලභව දකින්න තියෙන රෝගී තත්වයන් කිහිපයක්. මේ රෝගී තත්වයන් දරුණු වුනාම සමහරවිට සැත්කම්වලට පවා භාජනය වෙන්න සිද්ධ වෙනවා. ඒ වගේම මේ සමහරක් රෝගවලට දැනට කරන ඖෂධ ප්‍රතිකාරවලින් නිට්ඨාවට සුව වීමක් දකින්න ලැබෙනව අඩුයි. ඒ වගේ අවස්ථාවක වහරක අභයරතනාලංකාර හිමියන්ගේ බෙත් සමාධියට හසුවෙච්ච, කිසිදු අතුරු ආබාධයක් නැතිව, වැඩි වියදමක් නැතිව, තමන්ටම හදා ගන්න පුළුවන් ප්‍රත්‍යක්ෂ ඖෂධයක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ.




මේ සඳහා අමුද්‍රව්‍ය වශයෙන් අවශ්‍ය වෙන්නෙ අමු ගඩු ගුඩං කොළ 3 Kg යි, අමු ඇහැළ කොළ 3 Kg යි, හීන් උඳුපියලිය 3 Kg යි, දෙහි ඇඹුල් බෝතල් 4 යි, ලිපේ අළු 4 Kg යි, රතු කැකුළු හාල්වල නිවුඩ්ඩ 4 Kg යි. හැබැයි මේ කිව්වෙ විසාල පිරිසකට හදනවනම් අවශ්‍ය අමුද්‍රව්‍ය ප්‍රමාණයක්. ඒ නිසා තමන්ට අවශ්‍ය ප්‍රමාණයට හදා ගන්නකොට මේ අනුපාතයම එන විදිහට අමුද්‍රව්‍ය අඩු කරගන්න පුළුවන්. මෙතනදි දෙහි ඇඹුල් කිව්වම සාමාන්‍ය දෙහි ගන්නව මිසක් දෙහි කුලයේ වෙනත් ප්‍රභේද ගන්න බෑ. ඒ වගේම දෙහි ඇඹුල් හොයා ගන්න අමාරු නම් ඒ වෙනුවට ආදේශකයක් විදිහට සිට්‍රික් අම්ලය යොදා ගන්නත් පුළුවන්. එතකොට සිට්‍රික් අම්ලය, ජලය සමග 1:25 අනුපාතයට මිශ්‍ර කරල තමයි අවශ්‍ය ප්‍රමාණය හදා ගන්න ඕන. ඒ වගේම රතු කැකුළු හාල්වල නිවුඩ්ඩත් වී කොටන මෝල්වලින් පහසුවෙන් ලබා ගන්න පුළුවන්.

දැන් මේ ගඩු ගුඩං කොළ, ඇහැල කොළ, හීන් උඳුපියලිය කියන අමුද්‍රව්‍ය එකට කොටල, නිවාගත් උණුවතුර බෝතල් 3 ක් (ඉහත අනුපාතයට ගැළපෙන විදිහට) දමල මිරිකල ඉස්ම ටික පෙරා ගන්න ඕන. ඊළඟට ලිපේ අළු පෙනේරයකින් හලල දෙහි ඇඹුල් සමග හොඳට මිශ්‍ර කරල ද්‍රාවණයක් විදිහට පෙරා ගන්න ඕන. දැන් මේ ද්‍රාවණ දෙකෙන්ම මිශ්‍ර කරල කැකුළු හාල් නිවුඩ්ඩ අනාගන්න ඕන. දියාරු වැඩිනම් 60 C° ක විතර උෂ්ණත්වයක රත් කරල තෙතමනය බස්සගන්න පුළුවන්. මොකද තෙතමනය වැඩි වුනොත් ඊළඟ අදියරේදි වණ්ඩුවේ තම්බනකොට වණ්ඩුවෙන් පහළට වැක්කෙරෙන්න පුළුවන්. ඒ නිසා බේරෙන මට්ටම නැති වෙන්න තෙතමනය බස්ස ගත්තම ප්‍රමාණවත්. ඊළඟට ඒක වණ්ඩුවේ විනාඩි 40 ක් පමණ තම්බල කෝපි ගෙඩි තරමට ගුලි කරල අව්වෙ වේල ගන්න ඕන. අව්වෙ වේල ගන්නෙ කල් තියා ගන්න ඕන නිසා. එහෙම නැත්නම් ශීතකරණයක තියල කල් තියා ගන්න ඕන.

දැන් මේ ගුලිවලින් වරකට 2 බැගින් උදේ හිස් බඩටත්, හවසත් අරගෙන බඩ ටිකක් රත් වෙන මට්ටමට උණු වතුර වීදුරුවක් පානය කරන්න ඕන. මේ ඖෂධයෙන් පිත්තාශයේ, මුත්‍රාශයේ හා වකුගඩුවේ ගල් දියවෙනවා. ලොකු ගල් තිබුණොත් දිය වෙන්න මාස 8-12 ක් විතර යනවා. රඹුටන් ඇට තරම් ගල් මාස 6 ක් පමණ යනකොට දියවෙලා යනවා. ඊට අමතරව අම්ල පිත්ත ප්‍රදාහයත් (ගැස්ට්‍රයිටීස්), පුරුෂයන්ගේ පුරස්ථිති ග්‍රන්ථිවල ඉදිමුමත් සුව වෙනවා. හැබැයි මේ සියළු සුවවීම් සිද්ධ වෙන්නෙ මීට පෙරත් සඳහන් කළා වගේ ඒ ඒ පුද්ගලයන්ගෙ කර්ම ශක්තීන්ට යටත්ව.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නාම රූප හා නාම ගෝත්‍ර (මතක සටහන්) කියන්නෙ මොනවද?

*(පසුගිය කලාපයෙන් - ඇසුරු කරන අරමුණුවලට අනුරූපීව ගති හට ගැනීම හා සත්ත්වයන්ට ඉන්ද්‍රියන් හයක් ලැබීමට හේතුව....)*

නාම කියන්නෙ යම් ආකාරයක්, ලිංගයක්, නිමිත්තක්, උද්දේසයක්, ප්‍රඥප්තියක්... ආදී වශයෙන් විඤ්ඤාණ හා ඒ සමග පහලවන දේවල්, එහෙම නැත්නම් චෛතසික නිසා වැටහෙන දේවල්. නාම කියන එකේ එක විග්‍රහයක් තමයි ඒ. මෙතනදි ආකාර කියන්නෙ හැඩතලයක්. ලිංග කියන්නෙ ඒකෙ තියෙන ස්වභාවය. තද දෙයක්ද, මෘදු දෙයක්ද, වායුමයද, ද්‍රව්‍යමයද... ආදී වශයෙන්. නිමිති කියන්නෙ නිර්මිත වෙලා තියෙන විදිහ. උදාහරණ විදිහට ඉබ්බෙක් වගේ නිර්මිත වෙලා තියෙන නිසා ඉබ්බාගල කියනවා. ඇතා වගේ නම් ඇතුගල කියනවා. උද්දේස කියන්නෙ යමක් උදෙසා පනවපු දේ. උදාහරණ විදිහට විසාලයි, මහ ලොකුයි, අලියෙක් විතර ඇති... ආදී වශයෙන් කියන්නෙ උද්දේස. ප්‍රඥප්ති කියන්නෙ යමකට පනවන නම. උදාහරණ විදිහට යම්කිසි මනුස්සයෙක් ඉන්නව නම් ඔහුට ජයසේන, ගුණසේන ආදී නමක් තියනවා.

එතකොට මේ කියන වැටහීම් වශයෙන් එල්බ ගත් චෛතසික ඒ විඤ්ඤාණය මියයන කොටම මියයනවා. විඤ්ඤාණයෙන් ඇස - රූපය, කන - ශබ්දය, නාසය - ගන්ධය, දිව - රසය, කය - ස්පර්ශය, මන ධර්ම කියන මේවා සට්ඨනයෙදි (ස්පර්ශ වීමේදි) සිතක් පහල වෙලා ක්ෂණයකින් මියයනවා. එහෙනම් ''නාම ගොත්තං නජීරති'' කිව්වෙ මොන දෙයක්ද, මොන නොමියෙන දෙයක්ද? යම් ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති ආදිය පිළිබඳව මතක සටහන් මෙනෙහි කරනකොට ඒවා දැකපු අයුරින්ම වැටහීමක් ඇති වෙනවා. ස්මෘතියේදි ඒ මතකයන් පිළිබඳව සටහන් මතු වෙනවා, ආකාර වැටහෙනවා. මේ වැටහීම් මතු කරන ශක්තිය රූප වශයෙන්වත්, වේදනා වශයෙන්වත්, සංඥා, සංඛාර, විඤ්ඤාණ වශයෙන්වත් පවතින දෙයක් නෙවෙයි. පංචස්කන්ධයෙන් කොටසක් වශයෙන්වත් පවතින දෙයක් නෙවෙයි. මතකයන් ගැන වැටහෙන නාම රූප මතුවෙන්නෙ මෙනෙහි කරන කොටම ඒ ඒ ස්කන්ධයන්ගේ පහලවීම් වශයෙන්. එතකොට පේන්නෙ වෙන කොහේ හෝ තිබිල ඇදිල ආපු විදිහට. ස්මෘති චෛතසිකයන් අතීතය පිළිබඳව



අරමුණු කරන්න ගෝචර කිරීමට ක්‍රියා කරන මේ නාම ගෝත්‍ර, නාම ශක්තියක් විදිහට ධර්ම ලෝකයේ පවතිනවා.

උදාහරණයක් විදිහට අපි විදේශයක කලක් හිටිය කියල හිතමු. එහිදී හොඳින් දන හැඳින ගත් කෙනෙක් අපිට ලිපිත් එවනව කියල හිතමු. දැන් අපි මෙරටට ඇවිත් වසර විස්සක් ගියා කියල හිතමු. නැවතත් අපිට ලිපියක් ලැබෙනවා. ඒකෙ තියෙන්නෙ ඒ තැනැත්තා මියගිය බව. දැන් අපිට ඔහු පිළිබඳව මනෝ රූපයකුත් මැවිල පේනවා. නමුත් වසර විස්සකින් වයස ගිය කෙනෙක් මැවෙනවද? නැත්නම් පෙර අපි දැකපු රූපයට අනුරූපව මැවෙනවද? පෙර අපි දැකල පුරුදු රූපයම මැවිල පේනවා. අපේ මතකයේ රැඳුණු රූපාකාරය වයසට ගිහින් නැති බව පේනවා. නමුත් ඒ පුද්ගලයා විදේශයේදි ඒ අවස්ථාවෙ මහළු වෙලා තමයි මියගියේ.

ඒ වගේම සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයකට පෙර ගෞතම බුදු රජාණන් වහන්සේ පළවෙනි නියත විවරණය ගත් තැන සිහි කළා නම්, ඒ අවස්ථාවේ ආකාර, ලිංග, නිමිති, ප්‍රඥප්ති, උද්දේස... ආදිය ඒ මොහොතේ සිද්ධ වුණා වගේම පේනවා. බෝසතාණන් වහන්සේ මඩ වලේ දිගාවෙලා හිටපු ආකාරය, ලිංග කිව්වම තපස් ලිංගය හෙවත් තාපසයෙක් වශයෙන් ඉඳීම, ඒ අවස්ථාවේ නිර්මිත වෙලා තිබ්ච්ච වටාපිටාව... මේ ආදී අතීතයේ සිද්ධ වෙච්ච සියල්ලම ඒ මොහොතේ සිද්ධ වෙච්ච වගේ මතකයට නැගිල එනවා. ඒක එහෙම වෙන්නෙ දිරාපත්වන දෙයක් ඒකෙ නොතිබ්ච්ච නිසා. ඒ තමයි නාම ගෝත්‍ර හෙවත් මතක සටහන්වල ආකාරය.

ඒ නිසා සියල්ල දිරනවයි කිව්වොත් ඒක ගැලපෙන්නෙ නැති බවත් තේරුම් ගන්න ඕන. දහම් රටාවනුත් එසේමයි. පිනට සැප විපාක දීම, පවට දුක් විපාක දීම, හටගත් සියල්ල වැනසීම, සත්‍යාවබෝධය, අවිද්‍යාව/ තෘෂ්ණාව නිසා සසර සැරිසැරීම, වෛරයෙන් වෛරය නොසන්සිඳීම, අවෛරයෙන් වෛරය සංසිඳීම, චතුරාර්ය සත්‍යය කියන මේවා හැම දවසෙම හැම කල්ම, හැම තැනම එසේමයි. ඒ කියන්නෙ වෙනස් නොවන ධර්මතාවන්. මෙතනදි සියල්ල කිව්වෙ ඇස-රූපය, කන-ශබ්දය, නාසය-ගන්ධය, දිව-රසය, කය-පොට්ඨබ්බය, මන-ධර්ම කියන මේ ටික. ධර්ම කිව්වෙ මනෝ විඤ්ඤාණයක් ගොඩනැගෙන්න මනසට අරමුණු වෙච්ච මාත්‍රය. ඒක කර්මජ, චිත්තජ රූප වෙන්නත් පුළුවන්.

මෙතනදි කෙනෙකුට ගැටළුවක් ඇති වෙන්න පුළුවන්, කලින් ☞

කිව්ව වගේ නාම ගෝත්‍ර නොදිරන නිසා සියල්ලම නොදිරන බවත්, නමුත් දන් හටගත් සියල්ල වැනසෙන බව කීමෙන් ඒ දෙක අතර පරස්පරතාවක් හට ගන්නවා නේද කියල. ඒ කාරණය මේ විදිහට පැහැදිලි කර ගන්න පුළුවන්. නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් කියන්නෙ මෙහෙම දෙයක්. **අද උදේ යමක් සිද්ධ වුණා නම් ඒක මතක සටහනක් විදිහට තැන්පත් වෙනවා. හැබැයි හෙට උදේ කතා කරන්නෙ ඒක ඊයෙ උදේ වුණා කියල. ඊටත් පහුවදා කතා කරන්නෙ ඒක පෙරවිදා වුණා කියල. තව දවසක් ගියාම පළමුදා වුණා කියනවා. මේ වගේ මතක සටහන් කාලයත් සමග මොහොතක් නැර අතීතයට යනවා. එතකොට ඒවත් කැමති විදිහට නෑ වගේම ඒකාකාරත් නෑ.** හටගත් සියල්ල වැනසීම කියන එකත් විවිධාකාරයෙන් පෙන්වනවා. මෙතනදි ඒකාකාරීව නැතිවීම හෙවත් විපරිණාමය තමයි වැනසීම කියන්නෙ. හටගත් සියල්ල වැනසෙනව කිව්වම, හටගත් ඒවා කියන්නෙ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන ඒවා. එහෙම නැතුව නාම ගෝත්‍ර, වැනසීමට අයිති නෑ.

නාමයෝ වශයෙන් හටගත් යමක් ඇත්නම් හටගත් ඒවාට වැටෙන්නෙ රූප, වේදනා... ආදිය. ඒ හටගත් එකේ වැනසීමේ මතක සටහන් තමයි අර නාම ගෝත්‍ර කිව්වෙ. ඒ නිසා සියල්ලම වැනසේ කියන තැනදි ''සියල්ල'' කියනකොට අයිති වෙන්නෙ මොනවද කියල බලන්න ඕන. ඒ කියන්නෙ රූප, වේදනා, සංඥා සංඛාර, විඤ්ඤාණ ආදිය. මේ ටික වැනසුණු එකේ මතක සටහන තමයි නාම ගෝත්‍ර වශයෙන් තැන්පත් වෙන්නෙ. මතක සටහන් කියන්නෙ මතක් කළොත් එන එක. මතක් කරන්න පුළුවන් නම් නැවතත් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ නැගෙනවා. එතකොට ඒක ඒ මොහොතෙම ඉවරයි, වැනසුනා. නැවත අවශ්‍ය නම් නැවතත් මතක් කරන්න ඕන. හැබැයි නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් කියන ඒවා දිරාපත් වෙලා හෝ වැනසිලා ගිහින් තිබුණ නම් ඒ විදිහට මතක් කරන්න බෑ.

මේ කාරණය තවත් විදිහකින් පහදන්න පුළුවන්. සාසනය තුළ "සියල්ල" කිව්වම ඇස - රූප, කන - ශබ්ද, නාසය - ගන්ධ, දිව - රස, කය - පොට්ඨබ්බ, මන - ධර්ම කියන මේ ටික තමයි අයිති වෙන්නෙ. නාම ගෝත්‍ර අයිති වෙන්නෙත් ධර්මවලට. හැබැයි සියල්ල නැසෙනවයි කිව්වම, නාම ගෝත්‍ර සම්බන්ධයෙන් නැසෙනවා කියන්නෙ අවස්ථාව ඉක්මවා යනවා කියන එක. **යමක් නැසෙනව නම් ඒක කාලිකයි. ඒ කියන්නෙ කාලයත් එක්ක සම්බන්ධයි. නැසෙන්නෙ නැත්නම් අකාලිකයි. සත්‍යයක් නම් කාලයත් සමග ඉක්ම යන්න බෑ, අකාලිකයි. නමුත් නාම ගෝත්‍ර කියන ඒවා වැනසුනේ නැති වුනාට කාලයත් සමග ඉක්ම යනවා, අතීතයට යනවා. අතීතයක් තමයි මතකය විදිහට නැගිල එන්නෙ. එතකොට කාලයත් එක්ක සම්බන්ධ නිසා නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් අකාලික නෙවෙයි. කලින් තිබ්බ්ච තත්වය ඉක්මවා යනවා. එහෙම නැතිව ඒක කැඩිල බිඳිල යනව නෙවෙයි.** නමුත් මේ නාම ගෝත්‍රත් අර "සියල්ල" කියන කොටසට අයිතියි. හැබැයි වෙනස තමයි කාලයත් සමග ඉක්ම ගියත් වැනසෙන්නෙ නෑ.

එතකොට කෙනෙක් හෝ යමක් දැක්කම අඳුන ගැනීමත් නාම ගෝත්‍රත් එක්ක සම්බන්ධයි. ඒ අඳුන ගන්නෙ නාම ගෝත්‍රය හෙවත් මතක සටහනෙන්. කලින් කවදාහරි දැකල තියේ නම් මතක සටහන තියෙනවා. ඒක අතීතයට ගිහින්. නමුත් නැවත ආවර්ජනය කරල ගන්න පුළුවන්. ඒ නාම ගෝත්‍ර ධම්ම ලෝකයේ තියෙනකොට මනසට ධර්ම ඝට්ටනය කරල නැවත මතක් කරල දෙනවා. ඒක ඇදල එන්නෙ විපාකයක් වශයෙන්. එතකොට යමක් අමතක වෙන්නෙ ආවර්ජනය නොකරන නිසා. ආවර්ජනය මඳි වීම, නීවරණ නිසා යටපත්වීම වගේ මොනවහරි දුර්වලතාවයකින් එහෙම වෙන්න පුළුවන්.

මනසට ධම්ම ඝට්ටනය වෙනකොටම ඒකෙ ආකාරය තමයි මතකයට එන්නෙ. එතකොට ඒ ආකාරයට අනුරූපව ඒ අනුසාරයෙන් මතක සටහන නැගෙනවා. හැම වෙලේම සමානත්වයට සමානත්වය ඇදෙනවා. ඒක තමයි ගති ආකර්ෂණය කියන්නෙ. අතීතයේ දැකපු ආකාරයක් තියේ නම් ඒ ආකාර දෙයක් දකිනකොට ඊට ආසන්න දෙයක් ඇදල ඇවිත් සම්බන්ධ වෙනවා. ඒක ධර්ම ලෝකයෙන් තමයි එන්නෙ. ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති කියන ඒවා ඇදල එන්නෙ එහෙමයි. යමක ස්වභාවයට ඒ ජාතියේ ඒවා සම්බන්ධයි. එතකොට ඒ ජාතියේ ඒවා මතක් වෙනවා. මතක සටහන් දිරාපත් නොවී වැනසිලා නොතිබ්බ්ච නිසයි මතක් වෙන්නෙ.

මෙතනදි පෙර දැකපු දෙයක් මතක් වෙලා අඳුන ගැනීම එක කාරණයක්. පෙර නොදැකපු දෙයක් දිවැසින්, සමාධියෙන් බැලීම තව කාරණයක්. මේ සියල්ල සර්වාකාරයෙන් අරමුණු වෙන්නෙ ලොව්තුරා බුදු කෙනෙකුගේ සර්වඥතා ඥානයට විතරයි. අනික් අයට ඒ ඒ අයගෙ මට්ටම් අනුව පෙර සිදුවෙච්ච දේවල් අරමුණු වෙන්න පුළුවන්, ආවර්ජනය කරල බලන්න පුළුවන්. අහපු දේවල්, දැකපු දේවල් ඉක්මනින් ආවර්ජනය වෙනවා. නොඅහපු, නොදැකපු දේ ආවර්ජනය කරන්න විවිධ මානසික හැකියාවන් තියෙන්න ඕන.

දැකපු යමක් මතක් වෙන්නෙ ඒකෙ අනුසාරයක් දකින කොට. එහෙම නැත්නම් මනසින් මවල දකින්න පුළුවන්. යමක් දකින කොට විවිධ ක්‍රම වලින් ඒක නිර්මිත කරන්න පුළුවන්. නිර්මිත කරල බලන කොට සමහර විට අර ආකාර, ලිංග, නිමිති... ආධාර කරගන්න පුළුවන්. එකක් මතක් කරන කොට ඒක ආධාර කරගෙන තවත් දේවල් නිර්මිත වෙන් පුළුවන්. අතීතයේ තිබ්බ්ච දේකට අනුරූපව ඒවා නිර්මිත වෙනවා. ලෝකයක් විනාස වෙලා අලුත් ලෝකයක් හටගන්න කොට මේ තියෙන ගස් කොළං ආදිය හට ගන්නෙත් ඔය ක්‍රමයට. මනුස්සයින්ගෙ මතකයේ තියෙන නාම ගෝත්‍ර සටහන් තමයි ඇදිල ඇවිත් ඒවා නිර්මාණය වෙන්න හේතු වෙන්නෙ. ඒ නාම ගෝත්‍ර ඇදල ඇවිත් චිත්ත රූප මැවෙනවා. එතකොට මනුස්සයින්ට මැවෙන චිත්ත රූපවල ආකාරයට තමයි බාහිර ද්‍රව්‍ය වස්තු ගොඩ නැගෙන්නෙත්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 57 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය**

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ♦ යසස් දර්ශනප්‍රිය මහතා - අළුත්ගම ♦ ඩබ්. ඒ තිළිණවතී මහත්මිය - කඩවත ♦ සාලින්ද ශ්‍රී ජයවර්ධන මහතා - මාලබේ ♦ ඩී.සී.ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය – පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය**

♦ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ♦ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.10,000/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස- රු. 10,000/- ♦ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 8,000/- ♦ කේ.කේ ජයමනි චන්ද්‍රිකා මහත්මිය සහ දිනේෂ් ධර්මප්‍රිය මහතා - කරාපිටිය, ගාල්ල - රු. 7,000/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ♦ අමිල සුගතපාල මහතා ඇතුළු පවුලේ සැම - කඩවත - රු. 5,000/- ♦ අසේල වෛද්‍යාලංකාර මහතා ඇතුළු පවුලේ සැම - කොළඹ 05 - රු. 5,000/- වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ - රු 5,000/- ♦ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ♦ ඒ. එම්. ඩී. සී අමරසිංහ මහතා - දුම්මලසූරිය - රු. 3,000/- ♦ සකුන්තලා කරුණාතිලක මහත්මිය සහ උදාර කරුණාතිලක මහතා - බත්තරමුල්ල - රු. 3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ ඩී. ඩී. විතාරණ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2500/- ♦ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ♦ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම සිල්වා මහතා - මාරවිල - රු.2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000 ♦ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු.2,000/- ♦ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 2,000/- ♦ ඩිලානි ඩයස් මහත්මිය ඇතුළු පවුලේ සැම - නාවින්න - රු. 2,000/- ♦ ඔමෙත් ජයසිංහ පුතා ඇතුළු පවුලේ සැම - කඩවත - රු. 2,000/- ♦ සංජීවනි ලියනගේ සහ මල්ලිකා විජේතිලක මහත්මීන් - බුලත්සිංහල - රු. 2,000/- ප්‍රේමලතා රත්නායක මහත්මිය - නුගේගොඩ - රු 2,000/- ♦ ධනුෂ්ක, නයනි, සසිකලා, සුනේත්‍රා, කල්‍යාණවතී යන මහත්ම මහත්මීන් - මීගොඩ - රු. 1,700/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ♦ පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුල් සැම - පිටකෝට්ටේ - රු. 1,500/- ♦ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.1,500/- ♦ කෝසල ජයතිලක මහතා - ගම්පහ - රු. 1,500/- ♦ ඒ. එල්. ජී වීරසූරිය මහත්මිය සහ තාරක, මංජුල පුතුන් දෙදෙනා - රු. 1,500/- ♦ දුලීකා ගුණවර්ධන මෙනවිය - අතුරුගිරිය - රු. 1,500/- ♦ ජේ.කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු.1,400/- ♦ කේ. ශිවන්ති ශෂිප්‍රභා ප්‍රනාන්දු, කේ. තිලකරත්න ප්‍රනාන්දු, ජී.ඩී මල්ලිකා, කේ. ළහිරු අසංග ප්‍රනාන්දු යන මහත්ම මහත්මීන් - කිරිමැටියාන - රු. 1,210/- ♦ පද්මා ජයනෙත්ති මහත්මිය - නුගේගොඩ - රු.1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ♦ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ග්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/- ♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ♦ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - - රු. 1,000/- ♦ ජී.ඩී.ඩබ්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ♦ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු.1,000/- ♦ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු.1,000/- ♦ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1000/- ♦ බී.කේ විශාකා මහත්මිය ඇතුළු පවුලේ සැම - දෙල්කඳ - රු.1,000/- ♦ ෂවීන් ශ්‍රී ජයවර්ධන පුතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 1,000/- ♦ ඩී. චාමර චතුරංග මහතා සහ කේ. පී. සී. කේ පතිරණ මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,000/- ♦ වයලට් කුසුමලතා වික්‍රමාරච්චි මහත්මිය - කටුබැද්ද - රු.1,000/- ♦ නවින්දා බුද්ධදාස මහත්මිය - මිරිහාන - රු. 1,000/- ♦ යූ. එච් ලාල් ලලිත් මහතා - අවිස්සාවේල්ල - රු. 1,000/- ♦ ශ්‍රියා සමරරත්න මහතා සහ ශෙවන්ති සමරරත්න මහත්මිය - මොරටුව - රු. 1,000/- ♦ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ගම්පහ - රු. 1,000/- ♦ තිසර ශානක කරස්නාගොඩ මහතා - ගම්පහ - රු. 1,000/- ♦ චන්ද්‍රිකා පෙරේරා මහත්මිය - රතුපස්වල - රු. 1,000/-, ♦ කුසුම් වික්‍රමසිංහ මහත්මිය සහ නන්දනී කරස්නාගොඩ මහත්මිය - රදාවාන - රු. 1,000/- ♦ ආනන්ද රණසිංහ මහතා - හොරණ - රු.1, 000/- ♦ අත්තනගල්ල ප්‍රාදේශීය මහ ලේකම් කාර්යාලයේ සැලසුම් අංශයේ කාර්ය මණ්ඩලය - රු. 1,000/- ♦ ඊ. ඒ එරන්දති සඳසීලි මහත්මිය - නිට්ටඹුව - රු. 1,000/- ♦ පී. ඩී සෝමාවතී මහත්මිය - හොරණ - රු.1,000/- ♦ නලින්ද ප්‍රේමරත්න මහතා - මහරගම - රු. 1,000/- ♦ ප්‍රියසලා පද්මසිරි මෙනවිය ඇතුළු පවුලේ සැම - මැදවච්චිය - රු. 1,000/- ♦ තිස්ස බී අතාවුද මහතා ඇතුළු ☞

පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, හංසි නෙත්මිණි මුණසිංහ මෙනවිය - කොට්ටාව, කරුණා මහවත්ත මහත්මිය - බෝපෙ, චන්ද්‍රානි බියට්‍රිස් මහත්මිය - මහරගම, චිත්‍රා නානායක්කාර මහත්මිය සහ එරන්දිකා ශිවන්ති මහත්මිය - මහරගම, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, රසික තුශාන්ත මහතා - හෝමාගම, දමයන්ති ලියනගේ මහත්මිය - කිතලපිටිය, ප්‍රියන්ත ගුණතිලක මහතා - පිලියන්දල, ඩී. ජී. ටී. මැණිකේ මහත්මිය - යටිවැල්දෙනිය - එකතුව - රු. 5,800/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 194,610/- ♦ පළමු පිටපත් 12,000 සඳහා මුද්‍රණ වියදම රු. 276,000/- ♦ අනෙකුත් වියදම් - 16,110/- ♦ සම්පූර්ණ වියදම - රු. 292,110/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිර පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 / 0112744308) (3) නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල. - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041-2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල. (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) පුවත්පත් වෙළඳසල, කඩිගමුව, පට්ටම්පිටිය (රඹුක්කන හරහා) - 0719565624 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726, (23) දම්රිස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) තලංගල්ල විවේක සේනාසනය - 0716272455

**තැපැලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# මෙත් සසුන





සිත තුළ දොස් ගති දුරු කර ලන්නේ
සත වෙත සුභ සෙත පැතුමම වන්නේ
සිත සැම සුව වන නිවන පතන්නේ
සත වෙත අරි මෙත මෙලෙස වඩන්නේ

නැණ ගෙන ලොව තතු විමසා ලන්නේ
විදසුන් නැණ එලෙසින් වඩ වන්නේ
තතු දැක මිදුමට අසිරි පතන්නේ
අරි මෙත විදසුන් සමග වඩන්නේ



උඩ යට වට සැම තැන පතුරන්නේ
තරහව දුරු වූ සෙතම පතන්නේ
මග ඵල ලබනා මෙතකි වඩන්නේ
අපමණ සත වෙත සුවය ලැබෙන්නේ



මුනි රජ දුන් මෙත උපමා ගන්නේ
නැත සීමා මෙත් සිත සකසන්නේ
කය වදනද මෙත් වතෙහි තබන්නේ
බුදු සසුනේ ආසිරි ලැබ දෙන්නේ

පබැඳුම - ගම්පහ මනුජය කරුණාරත්න












# රූපං ජීරති මච්චානං නාම ගොත්තං නජීරති...

ඊයේ කෙරුව කී දේ අද මතක ඇතී
හීයේ වේගයෙන් ගෙවුනත් වැනස නැතී
ආයේ මතක් කෙරුවොත් යළි නැගිල එතී
වූයේ කිමද එය නම් ගොත් විලස වෙතී

රුව දිරුවත් මතක සටහන් නොදිරන්නේ
භව දුර ගියත් එනිසයි මතකෙට එන්නේ
තව අත්බැව් තිබුණු බව ඉන් වැටහෙන්නේ
නොවසව් එකක්වත් රිසි ලෙස නොම වන්නේ

සත කරනා කියන දේ නම් ගොත් බවටා
මතක සටහනක් ලෙස නිම වෙත් එවටා
කොතරම් කලක් ගතවී ගෙවුනත් මනටා
විතරයි දැකිය හැක්කේ නැත මස් ඇසටා

නොදිරන දහමකිය ලොව ඇති හැම සතට
හැඳිනිය හැකිය නම් ගොත් සසරෙහි දුරට
හැදි හැදි කැඩි කැඩී අතහැරී භව එමට
විඳිනට වෙයි තවත් හිටියොත් දුක ලොවට

නොදිරන නමුත් කල් යන විට දුරස් වෙවී
දන මන අමතකයි කල් ගිය ලෙසින් දැවී
මගෙ පණ කියා රැක්කත් මතකයෙන් ගෙවී
දින දින අතීතෙට යයි රිසි ලෙසින් නොවී

නම් ගොත් කියන විට තම නම් ගම් විතරක්
පෙන්වත් දහම ලෙස අද ඇතැමුන් වහරක්
සුන් වෙන බැඳුම් කල් යන විට වෙද කවරක්
උන් හට නොතේරෙයි ලොව ගැන හය හතරක්

මෙකී කරුණු අද නුහුරට හැඳින ගෙන
රකී සම්මතෙහි නම් ගොත් වටින මෙන
මැකී යනෙන නම් ගොත් "මම" විලස කින
දකී සදා කල් වැජඹෙන ලෙසට දන

නැණ ඇස දිවැස ඇති අය නම් ගොත් දැකලා
පැණසැති සතට පහදයි භව දුක් තිකලා
හිනැහෙති අහේතුක උන් ලොව දොස් රැකලා
වැනසෙති දුකම විඳවති යහ දම් මකලා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.